# පිදුම



අපමණ මෙත් කුළුණු සිතින්

දී මිණි ඔවා කළණ සිතින්

ගුරුපිය සිහි කර දම් සිතින්

පුදමි පා කමල් මත බැති සිතින්

# හැඳින්වීම

රතන සූත්‍රය ලාංකික බෞද්ධ සැමට ආගන්තුක සූත්‍ර ධර්මයක් නොවේ. දිනපතා උදේ සවස අසන, ඇසෙන, සජ්ඣායනය කරමින් භාවිත කරන සම්මා සම්බුදු දේශනාවකි. ඇතැම් බහ තෝරන වියේ පසු වන ළදරුවො පවා කට පාඩමින් සජ්ඣායනය කරති. එපමණට මෙය බොදුනු හදවත් වල ලියැවී තිබේ. ආරක්ෂාව, රැකවරණය, ආශීර්වාදය ආදිය අවශ්‍ය වන සැම තැනකදීම මෙම සූත්‍ර ධර්මයට මුල් තැන ලැබෙයි. බොදුනුවාගේ සුවිශේෂ ගෞරවාදරයට පත් සූත්‍ර ධර්ම අතර මෙයට ප්‍රමුඛ තැනක් හිමි වෙයි.

එහෙන් වත්මන් බෞද්ධයාට මේ උතුම් සූත්‍ර ධර්මය පිළිබඳව ඇති දැනුම හා ප්‍රායෝගික භාවිතය පිළිබඳව ඇති අවබෝධය ඉතාම දුර්වල ය. එලෙස ගැනීමේ දී කුඩා දරුවාගෙත් වැඩිහියාගෙත් එතරම් වෙනසක් නැති තරම් ය. එය අතිශය අගනා මැණිකක් අතේ තබාගෙන සිඟමන් යදිනවා හා සමානය.

ගාථා දාහතකින් යුත් මෙම සූත්‍රය තෙරුවන් ගුණ මනාව හඳුන්වා දෙයි. වෙසෙසින් මගඵල ලැබූ උතුමන් වහන්සේලාගේ ස්වභාවය මනාව පැහැදිලි කරයි. එය සෝවාන් ආදී සිව් මගඵල ලැබූවන් පහසුවෙන් හඳුනා ගැනීමට ද මග පෙන්වයි. මෙය මනාව හදාරන බොදුනුවා මායාකාර රැවටිලි කරුවනට අසු නොවෙයි; මුලා නොවෙයි.

රතන සූත්‍ර දේශනාවේ මුල් ගාථා දෙකෙන් පැමිණි පිරිසට ආශිවාද කිරීමත් කාරුණික ඉල්ලීම් දෙකකුත් කර තිබේ. අසරණ සත්ත්ව ප්‍රජාවට මෙත් සිත පතුරවන ලෙසත්, මනා අවධානයෙන් දහම් අසන ලෙසත් අවධානයට ලක්කර තිබේ.

තෙවන ගථාව බුද්ධ රත්නයේ උතුම් බව පෙන්වා දෙයි. සිව්වන ගාථාව ධර්ම රත්නයේ විශිෂ්ටත්වය මතු කරයි. ආනන්තරික සමාධියේ තිබෙන උසස් බව පස්වන ගාථා රත්නයෙන් පැහැදිලි වෙයි. ඊළඟ ගාථා රත්න හයම වෙන් වන්නේ සඟ ගුණ පිළිබඳව විස්තර කරීමට ය. සෝවාන් ඵල ලාභී උත්තමයන් වහන්සේගේ දියුණු කරගත් සිතෙහි ස්වභාවය හඳුනා ගැනීමට හැකි වෙයි. ධර්මයෙහි ස්ථිර ව පිහිටුවාගත් සිත

ඉන්ද්‍රකීලයක් මෙන් අකම්පිත වෙයි. මනාව චතුරාර්ය සත්‍ය ධර්මය අවබෝධ කරන ආර්ය උත්තමයන් වහන්සේ පංචානන්තරිය පාප කර්ම සිදු නොකරයි. කිසි කලෙක මිසදිටු නොවෙයි. කයින් වචනයෙන් හෝ සිතින් සිදු කරනු ලබන කුඩා, අනුකුඩා පාපක්‍රියා කිසිවිටකත් නොසඟව යි.

දොළහ සහ දහතුන ගාථා රත්න දෙක සම්මා සම්බුදු ගුණ ප්‍රකට කරයි. දාහතර වන ගාථා රත්නය රහතන් වහන්සේ පිළිබඳව හඳුන්වා දෙයි. අවසාන ගාථා තුන තෙරුවන් ගුණ වන්දනාව සඳහා වෙයි.

මේ රතන සූත්‍ර දේශනාව සත්‍ය ක්‍රියා බලය මතු කරයි. එය සිත පිරිසිඳු කිරීමෙන් ලබන්න හැකි මහා බල ශක්තියක් ලෙස ප්‍රායෝගිකව පෙන්වා දෙයි. ‘අංගුලිමාල සූත්‍රය’ද එබඳු ප්‍රසිද්ධ සත්‍යයක් ක්‍රියාවක් බව හැමෝම දනිති. අපේ බෞද්ධ සාහිත්‍යයේ සත්‍ය ක්‍රියා පිළිබඳ බොහෝ තොරතුරු හමුවෙයි.

අපේ සම්මා සම්බුදු රජාණන් වහන්සේ නිසිවටෙක පෙනෙන හෝ නොපෙනෙන දෙවි බඹුන් ආදී කිසි කෙනෙකුගෙන් හෝ කිසිඳු බලවේගයකින් පිහිට, ආරක්ෂාව, රැකවරනය නොපැතූ සේක. සිව් පිරිසට ද එවැනි බාහිර ආරක්ෂාවක, රැකවරණයක අවශ්‍යතාවයක් ඇතැයි පෙන්වා නොදුන් සේක.

**“අත්තා හි අත්තනො නාථො, කො හි නාථො පරො සියා**

**අත්තනා හි සුදන්තෙන, නාථං ලභති දුල්ලභං.”**

තමාට පිහිට තමා ම ය. වෙන කවරෙක් තමාට පිහිට වෙද්ද; තමා මනා ව දැමුණු කල්හි අරහත් ඵල නමැති පිහිට තෙමේ ම ලබයි.

අපට සරණ, පිහිට ඇත්තේ අප තුල මිස බාහිර නොවන බව මේ අනුව මනා ව පැහැදිලි වෙයි. යම් විටෙක අපට ආශීර්වාද කර ගැනීමට හෝ කිරීමට අවශ්‍ය වුව හොත් ඒ සඳහා කළයුතු වැදගත් දෙය, තමා සත්‍ය වශයෙන් දියුණු කරන ගුණ සිහියට නගා ගෙන සත්‍ය ක්‍රියා කළ යුතු යි. එමගින් සාර්ථක ආශීවාද ලැබෙ යි.

සිත දියුණු කිරීමට වඩා උතුම් ක්‍රියාවක් මෙලොව හෝ වෙන යම් ලොවක හමු නොවෙ යි. මැනවින් දියුණු කරගත් සිත අපට මහා පිළිසරණකි. මනා සිහිනුවණින් මවක සේ තම සිත රැක බලා දියුණු කර ගැනීමෙන් තමාට සෙසු සමාජයටත්, අප ජීවත් වන පරිසරයටත් සැලසෙන සෙත අපමණ යි.

මෙම උතුම් සූත්‍ර ධර්මය අර්ථ සහිත ව හදාරා, පිරිසිඳු සිල් ගුණ පුහුණු කරමින් ප්‍රතිපත්තියේ පිහිටා යම් කෙනෙක් කටයුතු කරන්නේ නම් ඔහුට නියත වශයෙන් ධර්මාවබෝධය වෙයි. නිවැරදි අවබෝධයට මෙම සූත්‍ර ධර්මය මග පෙන්වයි.

ගැඹුරු භාෂා දැනුමක් නොමැති, දහම් දැනුමට රුචිකත්වය දක්වන සැමට පහසුවෙන් දහම් කරුණු තේරුම් ගෙන, මුලා නොවී මැනවින් පිළිවෙත් පුරා, ධර්මාවබෝධය ලැබීම පිණිස සරල බසින් මෙය තිළිණ කරමු.

සිරි රහල් ලෙනගිරි අරණ්‍ය සෙනසුන,<br>
ලෙනගිරි මාවත,<br>
ඉහළ හේවෙස්ස,<br>
පිටිගල.<br>
2025. 02. 17.

# පටුන

නමෝ තස්ස භගවතෝ අරහතෝ සම්මා සම්බුද්ධස්ස.

## රතනසූත්‍රය.

යානීධ භූතානි සමාගතානි භුම්මානි වා යානි ව අන්තලික්ඛෙ
සබ්බෙව භූතා සුමනා භවන්තු අථො’පි සක්කච්ච සුණන්තු භාසිතං

තස්මා හි භූතා නිසාමෙථ සබ්බෙ මෙත්තං කරොථ මානුසියා පජාය
දිවා ච රත්තො ච හරන්ති යෙ බලිං තස්මා හි නෙ රක්ඛථ අප්පමත්තා.

යං කිඤ්චි විත්තං ඉධ වා හුරං වා, සග්ගෙසු වා යං රතනං පණීතං
න නො සමං අත්ථි තථාගතෙන, ඉදම්පි බුද්ධෙ රතනං පණීතං
එතෙන සච්චෙන සුවත්ථි හොතු.

ඛයං විරාගං අමතං පණීතං, යදජ්ඣගා සක්‍යමුනී සමාහිතො
න තෙන ධම්මෙන සමත්ථි කිඤ්චි, ඉදම්පි ධම්මෙ රතනං පණීතං
එතෙන සච්චෙන සුවත්ථි හොතු.

යම්බුද්ධසෙට්ඨො පරිවණ්ණයී සුචිං, සමාධිමානන්තරිකඤ්ඤමාහු
සමාධිනා තෙන සමො න විජ්ජති, ඉදම්පි ධම්මෙ රතනං පණීතං
එතෙන සච්චෙන සුවත්ථි හොතු.

යෙ පුග්ගලා අට්ඨ සතං පසත්ථා, චත්තාරි එතානි යුගානි හොන්ති
තෙ දක්ඛිණෙය්‍යා සුගතස්ස සාවකා, එතෙසු දින්නානි මහප්ඵලානි
ඉදම්පි සඞ්ඝෙ රතනං පණීතං, එතෙන සච්චෙන සුවත්ථි හොතු.

යෙ සුප්පයුත්තා මනසා දළ්හෙන, නික්කාමිනො ගොතමසාසනම්හි
තෙ පත්තිපත්තා අමතං විගය්හ, ලද්ධා මුධා නිබ්බුතිං භුඤ්ජමානා
ඉදම්පි සඞ්ඝෙ රතනං පණීතං, එතෙන සච්චෙන සුවත්ථි හොතු.

යථින්දඛීලො පඨවිංසිතො සියා, චතුබ්භි වාතේභි අසම්පකම්පියො
තථූපමං සප්පුරිසං වදාමි, යො අරියසච්චානි අවෙච්ච පස්සති
ඉදම්පි සඞ්ඝෙ රතනං පණීතං, එතෙන සච්චෙන සුවත්ථි හොතු.

යෙ අරියසච්චානි විභාවයන්ති, ගම්භීරපඤ්ඤෙන සුදෙසිතානි
කිඤ්චාපි තෙ හොන්ති භුසප්පමත්තා, න තෙ භවං අට්ඨමං ආදියන්ති
ඉදම්පි සඞ්ඝෙ රතනං පණීතං, එතෙන සච්චෙන සුවත්ථි හොතු.

සහාවස්ස දස්සනසම්පදාය, තයස්සු ධම්මා ජහිතා භවන්ති
සක්කායදිට්ඨී විචිකිච්ඡිතඤ්ච, සීලබ්බතං වාපි යදත්ථි කිඤ්චි
චතූහපායෙහි ච විප්පමුත්තො, ඡ චාභිඨානානි අභබ්බො කාතුං
ඉදම්පි සඞ්ඝෙ රතනං පණීතං, එතෙන සච්චෙන සුවත්ථි හොතු.

කිඤ්චාපි සො කම්මං කරොති පාපකං, කායෙන වාචා උද චෙතසා වා
අභබ්බො සො තස්ස පටිච්ඡදාය, අභබ්බතා දිට්ඨපදස්ස වුත්තා
ඉදම්පි සඞ්ඝෙ රතනං පණීතං, එතෙන සච්චෙන සුවත්ථි හොතු.

වනප්පගුම්බෙ යථා ඵුස්සිතග්ගෙ, ගිම්හාණමාසෙ පඨමස්මිං ගිම්හෙ

තථූපමං ධම්මවරං අදෙසයි, නිබ්බාණගාමිං පරමං හිතාය

ඉදම්පි බුද්ධෙ රතනං පණීතං, එතෙන සච්චෙන සුවත්ථි හොතු.

වරො වරඤ්ඤූ වරදො වරාහරො, අනුත්තරො ධම්මවරං අදෙසයි

ඉදම්පි බුද්ධෙ රතනං පණීතං, එතෙන සච්චෙන සුවත්ථි හොතු.

ඛීණං පුරාණං නවං නත්ථි සම්භවං, විරත්තචිත්තා ආයතිකෙ භවස්මිං

තෙ ඛීණබීජා අවිරුළ්හිඡන්දා, නිබ්බන්ති ධීරා යථායම්පදීපො

ඉදම්පි සඞ්ඝෙ රතනං පණීතං, එතෙන සච්චෙන සුවත්ථි හොතු.

යානීධ භූතානි සමාගතානි, භුම්මානි වා යානි ව අන්තලික්ඛෙ

තථාගතං දෙවමනුස්සපූජිතං, බුද්ධං නමස්සාම සුවත්ථි හොතු.

යානීධ භූතානි සමාගතානි, භුම්මානි වා යානි ව අන්තලික්ඛෙ

තථාගතං දෙවමනුස්සපූජිතං, ධම්මං නමස්සාම සුවත්ථි හොතු.

යානීධ භූතානි සමාගතානි භුම්මානි වා යානි ව අන්තලික්ඛෙ

තථාගතං දෙවමනුස්සපූජිතං සඞ්ඝං නමස්සාම සුවත්ථි හොතු

**නමෝ තස්ස භගවතෝ අරහතෝ සම්මා සම්බුද්ධස්ස.**

**යං කිඤ්චි විත්තං ඉධ වා හුරං වා**
**සග්ගෙසු වා යං රතනං පණීතං**
**න නො සමං අත්ථි තථාගතෙන**
**ඉදම්පි බුද්ධෙ රතනං පණීතං**
**එතෙන සච්චෙන සුවත්ථි හොතු.**

## ඇරඹුම

කාරුණික පින්වත්නි,

අපේ ධර්ම දේශනා මාතෘකාව වශයෙන් තබා ගත්තේ ඉතා වැදගත් සූත්‍ර දේශනාවක්. අපේ පින්වතුන් සැම දෙනාම ඉතා හොඳින් භාවිත කරන, නිතර අහන, නිතර ඇහෙන සූත්‍ර දේශනාවක්. මාතෘකා ගාථාව ඇහෙන විට ම රතන සූත්‍රය තමා අද ධර්ම දේශනාවට පදනම වන්නේ කියලා හැමෝටම පැහැදිලි වෙනවා. මොකද මේ හැමෝටම මේ සූත්‍රය කටපාඩමින් සජ්ඣායනය කරන්න පුළුවන්. පිරුවානා පොත් වහන්සේ නිරන්තරයෙන් ම භාවිත කරන නිසා එය පහසුවෙන් හොයාගන්න ගන්න පුළුවනි. මන්ත්‍රයක් වගේ දින පතා උදේ සවස සජ්ඣායනය කරනවා. තෙරුවන් වන්දනා කරන සෑම විටම වගේ සජ්ඣායනය කරනවා. සියලු රෝග දුරු කරගැනීමට, සියලු භය දුරු කරගැනීමට, සියලු කරදර දුරු කරගැනීමට, සියලු අපල උපද්‍රව දුරු කරගැනීමට, සිතේ සැනසුම උදා කරගැනීමට, සෞභාග්‍යය ලගා කර ගැනීමට මෙම සූත්‍රය මහා ශක්තියක් වෙනවා. මෙම සූත්‍රය තුළින් අපට පුදුමාකාර ශක්තියක්, බලයක්, ආරක්ෂාවක් ලැබෙනවා. ඒ විතරක් නෙවෙයි කෝටි ගණින් කුසල් සිතිවිලි පහල වෙනවා. ශ්‍රද්ධාව වැඩෙනවා. තෙරුවන් කෙරෙහි අපරිමිත පැහැදීමක් ඇති වෙනවා. බුදුගුණ, සදහම් ගුණ, සඟගුණ පිළිබඳ නොසැලෙන පැහැදීමක් ඇති වෙනවා. තෙරුවන් ගුණ අරමුණු කරගෙන භාවනා කරන අයට හරිම වැදගත් වෙනවා. පින්වත්නි, මේ

සූත්‍රයේ වටිනාකම කියල නිම කරන්න බැහැ. ඒ තරමට ම වටිනවා. එනිසා බොහොම ගෞරවයෙන් යුතු ව මෙම සූත්‍රයේ නිවැරදි තේරුම මනාව හදාරා, පිරිසිදු සීලයෙහි පිහිටා, මෙම සූත්‍රයේ එන දහම් කරුණු පුරුදු කළහොත් ලැබෙන ආනිසංස කියලා නිම කරන්නට පුළුවන්කමක් නැහැ. ශ්‍රද්ධා ශීලාදී ගුණ ධර්ම ඉතා හොඳින් වැඩෙනවා. අපේ කයට, සිතට මහා බලගතු ශක්තියක් ලැබෙනවා. අභ්‍යන්තර බාහිර සියලු උපද්‍රවයන් මගහැරී යනවා. විශේෂයෙන් අපේ සන්තානගත කෙලෙස් නිසා ඇතිවන විවිධාකාර පීඩා දුරු කර ගැනීමට හැකි වෙනවා. මේ ආකාරයට හැම පැත්තෙන්ම ආරක්ෂාව, රැකවරණය, සෙත ශාන්තිය උදා කර ගැනීමට මේ උතුම් සූත්‍ර ධර්මය මහෝපකාරී වෙනවා.

ඉතින් පින්වතුනි, මේ සූත්‍රය පිළිබඳව අපි අනිවාර්යයෙන්ම දැනගත යුතුමයි. මෙහි තේරුම ඉතාම හොඳින් ඉගෙන ගත යුතුමයි. එහි සඳහන් වන ආකාරයට අපේ සිත දියුණු කර, පෙන්වා දෙන ප්‍රතිඵල ළඟා කර ගතයුතුමයි. එයින් අපට ලැබෙන සැනසීම අපමණයි. මේ අවස්ථාවෙ ලැබෙන සීමිත වෙලාවෙන් මෙම අනගි සූත්‍ර ධර්මයේ අදහස සරලව ඉගන ගනිමු.

අපේ පින්වතුන් මෙම සූත්‍රය බහුල ව දකින්නෙ පිරුවානා පොත් වහන්සේගෙන් වුවත්, එය ත්‍රිපිටකයට අයත් මූල ග්‍රන්ථයක් නෙවෙයි. එය විශේෂයෙන් සූත්‍ර පිටකයෙ විවිධ තැන්වලින් තෝරා ගත් සූත්‍ර කිහිපයක් එකතු කරගෙන හදපු පොතක්. තව විදිහකින් කියනවා නම් එය සූත්‍ර සංග්‍රහයක්, සූත්‍ර එකතුවක්. එය පැරණි සමාජයේ අවශ්‍යතාවය අනුව නිර්මාණය කළ එකක්. ඉතිං මෙම සූත්‍රය නියම වශයෙන් සඳහන් වන්නේ ත්‍රිපිටකයේ ඛුද්දක නිකායේ ඛුද්දකපාඨපාලියේ හයවන අංකය යටතෙයි. ඒ වගේ ම ඛුද්දක නිකායේම එන සුත්තනිපාතයේ චූල්ලවග්ගයේ පළමු සූත්‍රය ලෙසත් සඳහන් වෙනවා. දැන් අපි දන්නවා නියම වශයෙන් සූත්‍රය තිබෙන තැන. එලෙස දැන ගැනීම හරි ම වැදගත් වෙනවා.

මෙම සූත්‍රය ටිකක් සුවිශේෂී එකක්. මොක ද? මෙම සූත්‍රයේ කිසිඳු වාර්ථාවක් සඳහන් වන්නේ නැහැ. මහාමංගල සූත්‍රය දෙස බැලූ කල අපට පෙනෙනවා, ‘මෙසේ මා

විසින් අසන ලදී කියලා ....', අපේ ධර්ම භාණ්ඩාගාරික අනඳ මහරහතන් වහන්සේ කෙටි විස්තරයක් කරනවා. මෙම සූත්‍රය අපට ඉදිරිපත් කරන්නෙ කව් ද, මුලින් ම දේශනා කළේ කව් ද, කාට දේශනා කළ එකක් ද, කුමකට දේනා කළ එකක් ද ආදී වශයෙන් විස්තරයක් අපට ලැබෙනවා. මෙම සූත්‍රයේ එහෙම කිසිම සඳහනක් හමුවන්නේ නැහැ. එය දැන ගන්න නම් එම සූත්‍රයට ලියවුණු අටුවා ග්‍රන්ථය බලන්න වෙනවා. එහි අදාල සියලු විස්තර සඳහන් වෙනවා. දේශනා කළේ කව් ද, කොහෙ දි ද, කුමක් අරමුණු කරගෙන දේශනා කළා ද, පසුබිම් කථාව කුමක් ද, ගාථාවල තේරුම් ආදී මේ සියලු විස්තර අවශ්‍ය පරිදි අඩුවක් නැති ව සඳහන් වෙනවා.

## නිදාන කථාව

සාමාන්‍යයෙන් අපේ බුදුරජාණන් වහන්සේ ධර්මක් දේශනා කළ වදාළත්, විනය නීතියක් පනවා වදාළත්, එයට කිසියම් හේතුවක් තිබෙනවා. පසුබිම් කථාවක් තිබෙනවා. මේ සමස්ථ ත්‍රිපිටක ධර්මය ම අපට දායාද වන්නේ එලෙසයි. අනෙක් සෑම සූත්‍ර දේශනාවකට ම වගේ මෙම සූත්‍ර දේශනාවටත් පසු බිම් කථාවක් තියෙනවා, නිදාන කථාවක් තියෙනවා. එයත් හරි ලස්සන කථාවක්. ඒ වගේ ම හරි වැදගත් අර්ථවත් කථාවක්. මෙම සූත්‍ර දේශනාවට ඉතා ඉහළ පිළිගැනීමක් වගේ ම ඉහළ වටිනා කමක් එම නිදාන කථාවෙන් ලැබෙනවා. අපට එයින් බොහෝ දේ දැන ගන්නට, ඉගන ගන්නට තියෙනවා. දැන් අපි මුලින් ම බලමු ඒ නිදාන කථාව කුමක් ද කියලා.

විශාලා මහනුවර දී තමයි පින්වත්නි, අපේ බුදුරජාණන් වහන්සේ මෙම සූත්‍රය මුලින් ම දේශනා කළ වදාරා තියෙන්නෙ. එකල බොහොම ධනවත් ව සමෘද්ධිමත් ව පැවැති රාජධානියක්. එකල ඉන්දියාවේ පැවැති සමූහ ආණ්ඩුවක්. ආහාරපාන අඩුවක් නැති ව තිබුණා. මිනිස්සු සතුටින් විනෝදයෙන් කාලය ගත කළා. හැමෝ ම සැපයෙන් සුවයෙන් සමඟියෙන් වාසය කළ බව සඳහන් වෙනවා. සමූහ ආණ්ඩුවේ රජවරු හත්දහස් හත්සිය හතක් සිටි බව හැමෝ ම දන්නවා. ඒ අය අපරිහානීය ධර්ම හතක් අනුගමනය කරමින් ඉතා ප්‍රබල රජයක් පවත්වා ගෙන ගිය බවත් කිය වෙනවා. අලංකාර උයන් වතු, ආරාම, පොකුණු, කූටාගාර ශාලා බොහොම පැවැතිලා තියෙනවා. මිනිසුන් අතර වාද භේද ගැටුම් තිබුණු බව සඳහන් වන්නේ නැහැ.

ඒ කොහොම වුවත් සොබා දහම වෙනස් කරන්න කාටවත් බැහැ. කිසිවෙක් නොසිතූ ලෙස දරුණු ආහාර හිඟයක් ඒ මුළු නුවර පුරාම ඇති වුනා. දීර්ඝ කාලයක් වැසි නොලැබීම තමා මෙයට මූලික හේතු ව. කොහොම නමුත් ඔවුනට එයින් මිදෙන්න බැරි ව ගියා. මෙය දුර්භික්ෂ බිය කියලා අපි හඳුන්වනවා. ඒ වගේ ම මන්ද පෝෂණය නිසාත්, අනෙකුත් ස්වභාවික හේතු නිසාත් මාරාන්තික රෝග පැතිරෙන්න පටන් ගත්තා. මෑත කාලයේ ලොව පුරාම පැතිරී ගිය කොරෝනා වසංගතය හැමෝට ම හොඳට මතකයි නේ. එයටත් වඩා අතිශය දරුණු ව්‍යසනයක් තමා මේ විශාලා නුවරට උදා වුනේ. විවිධාර මාරාන්තික රෝග හටගෙන පැතිරෙන්න පටන්ගත්තා. වියලි පරිසරය නිසා බෙහෙත් හිඟයත් දරුණුවට ම ඇති වෙලා නුවර පුරාවට ම මිනිසුන් මරණයට පත් වන්න පටන් ගත්තා. පවුල් පිටින් මිය පරලොව ගියා. ගෙයක් ගෙයක් පාසා, ගමක් ගමක් පාසා මළ සිරුරු වැඩි වුනා. ඒවා ඉවත් කරන්න බැරි තරමට වැඩි වුනා. මේ නිසා මිනිසුන් අතර අමනුස්ස බියකුත් පැතිරෙන්න පටන් ගත්තා. මෙලෙස දුර්භික්ෂ බිය, රෝග බිය, අමනුස්ස බිය වශයෙන් තුන් බියකින් මුළු රාජධානියම වෙලී ගියා. රජයත් අසරණ වෙලා මිනිසුන්ට කිසිම පිළිසරණක් වන්නට බැරි ව ගියා. ඒ නුවර වැසි සියලු මිනිසුන් අසරණ කමේ පහලට ම ඇද වැටුනා. කිසිම මිනිසෙකුට, දෙවි කෙනෙකුට, බ්‍රහ්මයෙකුට, පූජකයෙකුට ඔහුනට පිහිටක් වන්නට හැකි වූයෙ නැහැ.

මේ අවාසනාවන්ත තත්වය ගැන මිනිස්සු කතා කරන්න පටන් ගත්තා. රජවරු එක්ව සාකච්ඡා කළා. ඇතැම් මිනිස්සු රජයට දොස් කියන්නත් පටන් ගත්තා. අධාර්මික පාලනය නිසා තමයි මේ වගේ අවාසනාවන්ත තත්ත්වයක් උදා වුනේ කියලා තැන තැන කියන්න පටන් ගත්තා. රජවරු ඒ ගැනත් විමසලා බැලුවා. එහෙත් එහෙම අධාර්මික පාලනයක් ගැන ඔවුනට තොරතුරු හමුවුණේ නැහැ. කොහොම නමුත් විවිධ සාකච්ඡා, විවිධ ක්‍රියාකාරකම් දිගින් දිගටම කළා. හැමෝ ම විසඳුම් සොයන්න පටන් ගත්තා. විවිධ ආගමික නායකයන් පුද පූජා තැබුවා, ශාන්ති කර්ම කලා. ද්ව පූජා තැබුවා. බැගෑපත් ව දෙවින්ට කීවා. නමුත් ඒ කිසිම දෙයකින් ප්‍රතිඵලයක් ලැබුණේ නැහැ. මේ අතර සමහර මිනිසුන් බුදුරජාණන් වහන්සේ ගැන දැනගෙන හිටියා. මහා කරුණාවෙන් ලෝක සත්ත්වයාට සදහම් දේශනා කරනවා කියලා තිබුණා. ඉතිං ඒ උතුම් ගුණයෙන් යුතු

සම්මා සම්බුදුරජාණන් වහන්සේ අපේ රටට වැඩම කළොත්, මේ කරදර නැති වෙයි කියලා වගකිව යුතු අයට දැනුම් දුන්නා. ලිච්ඡවී රජවරු ඇතුළු හැම කෙනෙක්ම ඒ අදහසට කැමැත්ත පළ කළා. හැමෝ'ට ම වුවමනා වුණේ මෙම උවදුරින් කෙසේ හෝ මිදෙන්න. එනිසා රජවරු දෙදෙනෙක් සමඟ දූත පිරිසක් රජගහ නුවර බලා පිටත් ව ගියා. මේ පිරිස රජගහ නුවර රජකම් කළ බිම්බිසාර රජතුමා හමුවෙලා පැමිණි කරුණ ඉදිරිපත් කළා. රටවල් දෙකක් නිසාත්, රජවරුන් නිසාත් මෙය රාජතාන්ත්‍රික ව සිදු විය යුතුයි කියලා ඒ අය අදහස් කළා. අනතුරුව බුදුරජාණන් වහන්සේට ආරාධනා කළා. බුදුරජාණන් වහන්සේ ඒ ආරාධනාව මහා කරුණාවෙන් යුතු ව පිළිගෙන භික්ෂූන් වහන්සේලා පිරිවරා විශාලා මහනුවරට වැඩම කිරීමට තීරණය කළ වදාළා.

පින්වතුනි, විශාලා මහනුවරත් රජගහ නුවරත් වෙන් වූයේ ගංගානම් නදියෙන්. රජගහ නුවර සිට ගංගා නම් නදියට යොදුන් පහක් තිබුණා. බිම්බිසාර රජතුමා වහා ම බුදුරජාණන් වහන්සේ වෙත පැමිණ ගමන ටිකක් ප්‍රමාද කරන ලෙස ඉතා ගෞරවයෙන් ආරාධනා කළා. පසු ව රජතුමා මහ පිරිස් කැඳවා ගෙන යොදුන් පහක් පමණ වූ දුර පාර පිරිසිදු කළා. වල ගොඩැලි කපා පුරවා සමතලා කළා. මඟ දෙපස කොඩිවැල් පුන් කලස් ආදියෙන් සැරසුවා. අපේ සම්මා සම්බුදුරජාණන් වහන්සේ ඇතුළු මහා සංඝරත්නයට ගිමන් වෙහෙස නිවා ගැනීම පිණිස යොදුනෙන් යොදුන ආරාම ඉදි කළා. ඒ සියලු තැන්වල ඉතා හොඳින් දානය, ගිලන්පස ආදිය ලබා ගැනීමට අවශ්‍ය සියලු පහසුකම් ඉතා ඉහළින් සංවිධානය කළා. වැසිකිලි, කැසිකිලි පහසුකම් ආදි ඉතා ඉහළින් පිළියෙළ කළා. පාර පුරා මල් අතුරා ඒ මතින් බුදුරජාණන් වහන්සේ ප්‍රමුඛ ආර්‍යය මහා සංඝරත්නයට වැඩම කිරීමට සියලුම පහසුකම් අලංකාර ලෙස සංවිධානය කළා. ඒ විතරක් නෙවෙයි, ගංගා නම් නදියෙන් එතෙර වීමට නැව් දෙකක් එක් කොට දර්ශනීය මණ්ඩපයක් හදල තිබුණා. එහි ආසන පනවා තිබුණා. ඒ ආසන මත බුදුරජාණන් වහන්සේ ප්‍රමුඛ මහා සංඝරත්නයට පහසුවෙන් වැඩ සිටීමට හැකියා ව ලැබුණා. අනතුරුව බිම්බිසාර මහරජතුමා බුදුරජාණන් වහන්සේ වෙත පැමිණ විශාලා මහනුවරට වැඩම කිරීමට සුදුසු කාලය පැමිණ ඇතැයි දැනුම් දුන්නා.

විශාලා මහනුවර බලා වැඩම කිරීමට අපේ බුදුරජාණන් වහන්සේ සූදානම් වී වදාළා. ඒ වගේම රහතන් වහන්සේලා ප්‍රමුඛ ආර්ය මහා සංඝරත්නය පන්සිය නමක් පමණ මේ සඳහා සූදානම් වී වදාළා. මේ වැඩම කිරීම සඳහා රාජානුග්‍රහය ද රජතුමාගේ සහභාගිත්වයෙන් ලැබුණා. අපේ සම්මා සම්බුදුරජාණන් වහන්සේ පෙරටු කරගත් මහා සංඝරත්නයට ඉතා ඉහළ පිළිගැනීමක් ලැබුණා. සෑම භික්ෂූන් වහන්සේ නමකට ම වෙන වෙනම අලංකාර සේසත් ඔසවමින් සෙවන සැලසුවා. බිම්බිසාර රජතුමා තමාගේ කාර්යයක් සේ සලකා තමාට කළ හැකි සියලුම උපස්ථාන ඉතාම ඉහළ ගෞරවයෙන් සිදුකළා. සම්මා සම්බුදුරජාණන් වහන්සේත් මහා සංඝරත්නයත් ගංගා නම් නදියෙන් එතෙර වන තුරු සියලු උපස්ථාන කළා.

ගංගා නම් නදියේ සිට විශාලා මහනුවරට යොදුන් තුනක පමණ දුරක් තිබුණා. බිම්බිසාර රජතුමාගේ උපස්ථානය ආදර්ශයට ගෙන ලිච්ඡවි රජවරු එම යොදුන් තුනක පමණ වූ මග අලංකාර කළා. යොදුන් බාගෙන් බාගෙට ආරාම ඉදිකළා. මල් සැරසිලි කළා. දානය, ගිලන්පස ආදී සියලු ප්‍රත්‍ය පහසුකම් සංවිධානය කළා. රාජ්‍ය ගෞරවයෙන් බුදුරජාණන් වහන්සේ ඇතුළු ආර්ය මහා සංඝරත්නය විශාලා මහනුවරට වැඩම කළ වදාළා. විශාලා මහානුවර වැසියෝ ද ඉතාම උද්යෝගයෙන්, ඉතාම ඕනෑකමින්, ඉතාම ගෞරවයෙන් බුදුරජාණන් වහන්සේ ප්‍රමුඛ මහා සංඝරත්නය තම නුවරට වඩින ආකාරය සාදු නද දෙමින් බලා සිටියා. එයම රටවැසියනට මහා සැනසීමක් උදාකලා. මුළු නුවරම සාධු නද පැතිරී ගියා. සියලු නුවර වැසියන්ගේ සිත් සතුටින් පිරී ඉතිරී ගියා. හැමෝගෙ ම සිත් වල ජීවිතය පිළිබඳ නව බලාපොරොත්තු ඇතිවෙන්නට පටන් ගත්තා. සතුට, සැනසිල්ල, සෞභාග්‍ය පිළිබඳ අදහස් නව මුහුණුවරකින් ඇති වුණා.

පින්වත්නි, බුදුරජාණන් වහන්සේගේ ගුණය අනන්තයි, අපරිමිතයි. ධර්මරත්නයේ ගුණයත් අනන්තයි, අපරිමිතයි. මහා සංඝරත්නයේ ගුණයත් අනන්තයි, අපරිමිතයි. ත්‍රිවිධ රත්නයේම ගුණ අනන්තයි අපරිමිතයි. කිසිම දවසක ඒවා ප්‍රමාණ කරලා පෙන්වන්න බැහැ. ගණන් කරලා නිම කරන්න බැහැ. දේශනා කරලා ඉවර කරන්නත් බැහැ. ඒ වගේම බලය ශක්තිය දේශනා කර නිම කරන්න පුළුවන්කමක් නෑ. අනන්ත වූ තෙරුවන් ගුණ ඉදිරියේ මේ පරිසරය පවා වෙනස් වෙනවා, අවනත වෙනවා. පරිසරය

කිසිවිටෙකත් බුදු පිළිමයකටවත් හිංසාවක් වන්නට ඉඩ තියන්නේ නැහැ. ඒ ගැන මම මෙහිදී සඳහන් නොකළාට අපේ පින්වතුන්ට හොඳට මතක් වෙනවා. මතක් කරලා බලන්නට පුළුවන්. මේ හැමෝටම මතක ඇති, මහා සුනාමියක් හටගෙන වෙරළ ආශ්‍රිත ව සිදු වූ මහා විනාශය පිළිපඳව. එහෙත් ඒ සුනාමිය බුදු පිළිම වලට හානි කළේ නැහැ. ඒක හරි පුදුම දෙයක්, මහා අසිරිමත් සිදුවීමක් කියල මේ හැමෝම දන්නවා. ඒ වගේ මහා පුදුම සිදුවීමක් අපේ ජීවමාන බුදුරජාණන් වහන්සේ විශාලා මහනුවරට වැඩමවා වදාරද්දී සිදු වුනා. ඇතැම් විට නූතන විද්‍යාවට මේවා සිදුවන්නේ කෙසේද කියා පැහැදිලි කරන්නට බැරි වෙන්න පුළුවන්. එහෙත් එහෙම දේවල් සිදු වෙන අවස්ථා අනන්තවත් පවතිනවා. ඒ වගේ මහා පුදුම දෙයක් මෙහිදී සිදු වන්න පටන් ගත්තා. අපේ සම්මා සම්බුදුරජාණන් වහන්සේ පෙරටු කර ගත් මහා සංඝරත්නය විශාලා මහනුවරට පා තැබුවා පමණයි, මහා පොකුරු වර්ෂාවක් ඇද හැලෙන්නට පටන් ගත්තා. මහා නියඟය නිසා අනන්ත දුක් විඳිමින් සිටි විශාලා නුවර වැසියන්ට පුදුම සහනයක් ගෙන දෙන්න පටන් ගත්තා. එනුවර ජනතාවට ඇති වූ සතුට, ප්‍රීතිය, ප්‍රමෝදය කියලා නිම කරන්න බැරි ව ගියා. කිසිම දෙවියෙකුට, බ්‍රහ්මයෙකුට, පූජකයෙකුට කරන්නට බැරි ව තිබුණ දෙය බුදුරජාණන් වහන්සේගේ වැඩමවීමෙන් සිදු වුණා. කිසිම විසඳුමක් නැතු ව සිටි ජනතාවට හොඳ ම විසඳුමක් ලැබුණා. පිළිසරණක් නැති ව සිටි ඔවුනට මහා පිළිසරණක් වුණා. එය ඔවුනට මහා ප්‍රාතිහාර්යක් වුනා. මේ නිසාම විශාලා මහනුවර වැසියන්ගේ පැහැදීම දෙගුණ තෙගුණ වී වැඩෙන්න පටන් ගත්තා. අනපේක්ෂිත ලෙස මේ ඇද හැලුණු මහා වර්ෂාවෙන් නුවර පුරා විසිරී පැතිරී තිබුණ මළ සිරුරු සෝදාගෙන යන්ට පටන් ගත්තා. මුළු නුවර ම පිරිසිදු වන්නට පටන් ගත්තා. සෑම තැනම පැතිරී තිබුණ දුගඳ පහ ව ගොස් සුවඳ හමන්නට පටන් ගත්තා. මුළු නුවර ම වෙලාගෙන තිබුන දුර්භික්ෂය පහව ගොස් සැමට ආහාරපාන සුලභ ක්‍රමවේද සැකසෙන්නට පටන් ගත්තා. රෝග බිය තුරන් වන්නට පටන් ගත්තා. අමනුස්ස බියත් පහ වන්නට පටන් ගත්තා. බියකරු අඳුරු ස්වභාවය පහ ව ගොස් සෑම තැනම ආරක්ෂාව රැකවරණය පිළිබඳ ව හැඟීම් පැතිර ගියා. ඒ වගේම මේ වර්ෂාව මහ පුදුම එකක්. මේ වැස්සට තෙමෙන්න කැමති අය තෙමෙනවා. තෙමෙන්න කැමති නැති අය එළිමහනේ සිටියත් තෙමෙන්නේ නැහැ. ගස් වැල් ලියලා දළු දාන්න පටන් ගත්තා. සුවඳ මල් පිපෙන්න පටන් ගත්තා. එල දරන්න පටන් ගත්තා.

විශාලා මහනුවර වැසියන්ගේ ආරක්ෂාවට, රැකවරණයට, සතුටට, සැනසීමට, සෞභාගයට අවශ්‍ය සියලුම දේ ලැබෙන්න පටන් ගත්තා. එයට ගැලපෙන පරිසර පද්ධතිය යළි ගොඩ නැගෙන්න පටන් ගත්තා. බොහෝ මිනිස්සු එයින් ම බුදුන් සරණ යන්න පටන් ගත්තා. සදහම් සරණ යන්නට පටන් ගත්තා. සඟ සරණ යන්නට පටන් ගත්තා.

ඉතින් පින්වත්නි, විශාලා මහනුවර පාලනය කළ ලිච්ඡවි රජවරුන්ගේ සහ රටවැසියන්ගේ මහත් ගෞරව සත්කාර මැද බුදුරජාණන් වහන්සේ ඇතුළු මහා සංඝරත්නය නගර දොරටු ව වෙත වැඩම කළ වදාළා. එතනදී අපේ සම්මා සම්බුදු රජාණන් වහන්සේ මහා කරුණාවෙන් ආනන්ද ස්වාමීන් වහන්සේට රතන සූත්‍රය උගන්වා වදාළා. අපේ පින්වතුන් ඉතා හොඳින් දන්නවානේ අපේ ආනන්ද මහා ස්වාමීන් වහන්සේ පිළිබඳව. මෙහිදී මම ඒක සඳහන් කරන්න අවශ්‍ය වෙන්නේ නැහැ. අපේ සම්මා සම්බුදුරජාණන් වහන්සේ කෙරෙහි මහා ගෞරවයකින් ඉමහත් ශ්‍රද්ධාවකින් කටයුතු කරන අනඳ මහා ස්වාමීන් වහන්සේ බුදුරජාණන් වහන්සේ උගන්වා වදාළ රතන සූත්‍රය මනාකොට එක වරටම මතකයේ රඳවාගෙන ක්‍රියා කළ වදාළා. බුදුරජාණන් වහන්සේගේ අවවාදය, අනුශාසනය කිසිදු වෙනසක් නොකොට, අකුරක්වත් වරද්දන්නෙ නැති ව කටයුතු කරන නිසයි මේ භාරදූර කාර්යය අනඳ මහා ස්වාමීන් වහන්සේට ම පැවරුනේ. අපේ අනඳ මහා ස්වාමීන් වහන්සේ ඉතාම කරුණාවෙන්, මෛත්‍රියෙන් මුළු විශාලා ව පුරාම වැඩම කළා. නිකම්ම නෙවෙයි, පාත්‍රයට පිරිසිදු පැන් පුරවාගෙන, රතන සූත්‍රය සජ්ඣායනය කරමින් සෑම තැනම පිරිත් පැනින් තෙත් කළ වදාළා. මේ සඳහා රටවැසියන්ගේත් රජවරුන්ගේත් උපරිම සහය පහසුකම ගෞරවයෙන් ලැබුණා.

මේ අතරම නගරයේ මැද කුටාගාර ශාලාව පිරිසිදු කර ලස්සනට සැරසුවා. උඩට දැකුම්ලු උඩුවියන් බැඳ, බිමට අනර්ග බුමුතුරුණු අතුරා, පාවඩ එලා, අලංකාර වට තිර ඇද, සුවඳ මලින් සරසා අලංකාර කළා. ලස්සන සුවඳ මල් වැල් වලින්, මල් දම්වලින්, කොඩි වැල්වලින්, පුන්කලස් ආදියෙන් අලංකාර ව වර්ණවත් කළා. මිනිස් හදවත් පිරිසිදු වන්නට පටන් ගත්තා. සැදැහැයෙන් ගෞරවයෙන් යලි යලිත් තෙරුවන් සරණ යන්න

පටන් ගත්තා. තෙරුවන් ගුණ සිහි කළා. මෙලෙස උදාර ලෙස අලංකාර කළ කූටාගාර ශාලාවේ බුදුරජාණන් වහන්සේ සඳහා සුවිශේෂී වූ උදාර ආසනයක් පිළියෙල කළා. මහා සංඝරත්නයටත් සුදුසු පරිදි, විනයානුකූල ව ආසන පිළියෙල කළා. ඉතින් මේ දෙස බලා සිටින ඕනෑම කෙනෙකුට එය දේව විමානයක්, දේව සභාවක් ලෙස දැනුනා. මොක ද රාජ්‍ය අනුග්‍රහය ඇති ව, ඒ අය දන්න සියලු කලා ශිල්ප අවස්ථාවේ හැටියට භාවිත කර, ඉතාම උසස් ලෙස බොහොම ඉහලින් සරසලා තිබුණා. සම්මා සම්බුදුරජාණන් වහන්සේ පෙරටු කරගත් මහා සංඝරත්නය කූටාගාර ශාලාවට වැඩම කළ වදාළා. ලිච්ඡවී රජවරු හැමෝමත් පැමිණියා. විශාලා මහනුවර වැසියොත් පැමිණියා. මුළු ප්‍රදේශය ම අතුරු සිදුරු නැතු ව මිනිසුන්ගෙන් පිරී ඉතිරී ගියා. ඒ විතරක් නෙවෙයි, දෙදෙව් ලොවට අධිපති සක් දෙවිඳුත් සිය පිරිවර සමඟ එතැනට පැමිණි බව සඳහන් වෙනවා. තව තවත් දෙවිවරු පැමිණි බව සඳහන් වෙනවා. අපේ සම්මා සම්බුදුරජාණන් වහන්සේ සෙසු ආර්ය මහා සංඝරත්නය සමඟ **රතන සූත්‍රය** යලි යළිත් සජ්ඣායනය කළ වදාළා. ඒ මහා පුරවරයේ සියලු දෙනාගේම සිත් සතන් සනසවන්නට, ධර්මය අවබෝධ කරවන්නට සුදුසු අවවාද, අනුශාසනා අවශ්‍ය පමණින් ලැබෙන්න පටන් ගත්තා.

අපේ පින්වතුන් හොඳටම දන්නව අදටත් බුදුරජාණන් වහන්සේගේ ගුණ සමුදාය වෙනුවෙන් මොන තරම් නම් ලොව පුරා සැදැහැති මිනිස්සු තමන්ගේ කාලය, ධනය, ශ්‍රමය වැය කරනව ද කියලා. අපේ දළදා වහන්සේ ප්‍රදර්ශනය කරනවා දැන ගත් විගස ම මිනිස්සු කොයිතරම් එතැනට රැස් වෙනව ද? දින ගණන්, සති ගණන්, මාස ගණන් කාලය අරගෙන සූදානම් වෙලා, පේ වෙලා, කැප වෙලා, පැමිණෙනවා. රුවන්වැලි මහා සෑ රජාණන් වහන්සේ සමීපයට කොපමණ රැස් වෙනවා ද? ජය ශ්‍රී මහා බෝධි රජාණන් වහන්සේ සමීපයට කොපමණ රැස්වෙනවා ද? අදටත් ඒ තැන් වල මිනිසුන්ගෙන් හිස් වන දවසක් නැහැ. ඈත පිටිසර ගම් දනව්වල සිට, දුෂ්කරතා මැඩ පවත්වා ගෙන, බොහොම ගෞරවයෙන් පැමිණෙනවා. මොන කරදර බාධක ආවත් ඒ කිසිවක් ගණනට නොගෙන වන්දනාවේ යෙදෙනවා. ඇතැම් අය ජීවිත පරිත්‍යාගයෙන් පැමිණෙන්නේ. අපේ රටේ අය විතරක් නෙවෙයි, විදේශ රටවලින් පවා බෞද්ධ, අබෞද්ධ භේදයකින් තොර ව පැමිණෙනවා. පැමිණ නැවත නැවතත් තෙරුවන් සරණ යනවා. සිල් සමාදන්

වෙනවා. භාවනා කරනවා. අපමණ පින් රැස් කරනවා. සසර ගමන කෙටි කරගන්නට වෑයම් කරනවා. ඉතින් මේ ව්‍යසනයක් වෙලා තියෙන අවස්ථාවේදී, එයට නිසි සහනය ලැබෙන විට දී සම්මා සම්බුදුරජාණන් වහන්සේ ඇතුළු මහා සංඝරත්නය බලන්නට, දකින්නට, වැඳ පුදා ගන්නට, ආශීර්වාද ලබා ගන්නට කෙතරම් සෙනගක් එතනට රැස්වන්නට ඇති ද? හිතා ගන්නට වත් අමාරුයි නේද?

පින්වත්නි, දැන් අපි මෙතෙක් වෙලා විමසා බැලුවේ රතන සූත්‍රයට අදාල පසුබිම් කතාවයි. පසුබිම් කතාව අසා නැවතීමෙන් පමණක් ප්‍රයෝජනවත් වන්නේ නැහැ. මේ සූත්‍රයෙන් නිසි ප්‍රයෝජන ගන්නට නම්, මේ සූත්‍රය කියවන්නට අවශ්‍ය වෙනවා. පාඩම් කරගන්නට අවශ්‍ය වෙනවා. කටපාඩම් කර ගැනීමත් ඉතා හොඳයි. මෙහි අර්ථය ඉතාම හොඳින් අධ්‍යනය කරන්නට අවශ්‍ය වෙනවා. අදාල ගුණ ධර්ම ඉතාම හොඳින් පුරුදු කරන්නට අවශ්‍ය වෙනවා. අන්න එහෙම කාලයක් පුරුදු කරද්දි, අපට මෙහි සඳහන් වන මහා ආනිසංස, අපේ ජීවිත තුළින් අත් දකින්නට පුළුවන් වෙනවා. අවාසනාවකට වගේ අපේ බොහෝ පින්වතුන්ලා ආශිර්වාදය පිණිස උදේ සවස ශ්‍රවණය කරනවා, පාඩම් කර ගන්නවා, සජ්ඣායනය කරනවා. එහෙත් එතනින් නවතිනවා. එය කිසිසේත් ම ප්‍රමාණවත් නැහැ. අපි බොහෝ තැන්වලදී විමසා බලනවා. අඩුම තරමේ මෙහි තේරුම වත් දන්නව ද කියලා. කණගාටුවෙන් කියන්නේ, බොහෝ දෙනා කටපාඩම් කරගෙන තිබුණත්, තේරුම දැනගෙන හිටියේ නැහැ. අන්න ඒ නිසාමයි මෙම සූත්‍රයේ තේරුම යම් පමණකට හෝ කියාදෙන්නට උත්සහ කරන්නේ. එනිසා අපේ පින්වතුන්ගෙන් බොහොම කරුණාවෙන් මෛත්‍රියෙන් ඉල්ලා සිටින්නේ, ඉතා හොඳින් සූත්‍රයේ අර්ථය හදාරා, තම තමන්ට හැකි පමණින් ගුණධර්ම පුරුදු පුහුණු කර, පෙන්වා දෙන ආනිසංස ජීවිත වලට ලගා කරගන්න කියලයි.

පින්වත්නි, මේ සූත්‍රය පුරාම සඳහන් වන්නේ තෙරුවන් ගුණ පිළිබඳවයි. තව විදිහකින් කිවහොත් මනාකොට සිත දමනය කරගත් ආර්ය පුද්ගලයකුගේ සිතෙහි ස්වභාවය පිළිබඳව තමා මෙහි සඳහන් වන්නේ. මම හිතනවා අපේ පින්වතුන් හැම දෙනා ම සිත දියුණු කරගන්න කැමතියි කියලා. එහෙම කැමතිනම් මෙම උතුම් සූත්‍ර ධර්මය මනාකොට අධ්‍යනය කර, එහි සඳහන් ආනිසංස උපරිමයෙන් තමන්ගේ ජීවිතයට ළඟා

කර ගන්නට හැකි සෑම උත්සාහයක්ම ගන්නා ලෙස, කරුණා මෛත්‍රී සිතින් නැවත නැවතත් මතක් කර සිටිනවා. දැන් අපි ගාථාවෙන් ගාථාව අරගෙන, ඒවායේ අර්ථ මොනවාදැයි විමසා බලමු.

## පළමු ගාථාව.

ටිකක් ශබ්ද නගා ලස්සනට සජ්ඣායනය කරමු.

**යානීධ භූතානි සමාගතානි භුම්මානි වා යානි ව අන්තලික්ඛෙ**

**සබ්බෙව භූතා සුමනා භවන්තු අථො’පි සක්කච්ච සුණන්තු භාසිතං.**

මෙම ගාථාවේ **යානීධ (යානි+ඉධ)** කියන්නේ වචන දෙකක එකතුවක්. **යානි** කියන වචනයෙන් ‘**යම්කිසි**’ කියන අර්ථය දෙනවා. ‘**ඉධ**’ කියන්නේ මෙම ස්ථානයේ, මේ භූමියෙ, මේ පළාතේ කියන අදහසයි. මෙම වචනය යෙදෙන තැන අනුව යම් යම් වෙනස්කම් තිබෙන්න පුළුවන්. සමහර අවස්ථාවලදී ‘**මේ බුද්ධ ශාසනය’** කියන අදහසත් දෙනවා. **භූතානි** කියන වචනයෙන් අදහස් කරන්නේ එතැනට පැමිණි පිරිසයි. **භූත** කියන වචනයේ විවිධ අදහස්, විවිධ තේරුම් තියෙනවා. ඒවා අපි පසුව ඉගන ගනිමු. මෙතැන අදහස් කරන්නේ එතැනට රැස්ව සිටි පිරිසයි. එතැනට දෙවියෝත්, ලිච්ඡවි රජවරුත්, ඒ වගේම රට වැසියෝත් රැස්වෙලා හිටියානේ. ඒ හැමෝම හඳුන්වන්න ඒ වෙලාවේදී බුදුරජාණන් වහන්සේ භාවිත කර ඇත්තේ **භූත** කියන වචනය. මොකද මේක ගාථා ස්වරූපයෙන් ලස්සනට සජ්ඣායනය කරන්න පුළුවන් විදිහට සකස් වෙන්න අවශ්‍ය වෙනවනේ. අන්න ඒ නිසා **භූත** කියන වචනය භාවිතයට ගන්නට ඇතැයි සිතමු. එහෙම නැති ව අපේ හිතින් මවාගෙන සිටින, අපේ සිත් වල පදිංචි ව සිටින **භූතයන්** නම් නෙවෙයි. අපේ සිත්වල තියෙන අදහස් මේවා තුළින් තේරුම් ගන්න යාම සුදුසු වන්නේ නැහැ. ‘**සමාගතානි**’ යන වචනයේ අදහස පැමිණි, රැස්වූ යන අදහසයි. ‘**භුම්මානි වා අන්තලික්ඛෙ**’ පොළොවේ හෝ අහසේ යන අදහසයි. ‘**සබ්බෙව (සබ්බෙ+ඒව) සුමනා භවන්තු’** සියල්ලෝ ම සතුටු සිත් ඇත්තෝ වෙත් වා! යන අදහස දෙනවා. අථොපි (අථො+අපි) ‘**සක්කච්ච සුණන්තු’** යන වචන වල අදහස, ඉක්බිති සකසා හෙවත් ඉතා

හොඳින් අසත්වා! ශ්‍රවණය කරත්වා! කියන අදහසයි. **<u>භාසිතං</u>** යනුවෙන් අදහස් කළේ බුදුරජාණන් වහන්සේ විසින් සිදුකරන දේශනාවයි. ඒ කියන්නේ බුදුරජාණන් වහන්සේගේ අවවාදය අනුශාසනය කියන එකයි.

අපි මේ වචන වල තේරුම සිංහල භාෂාවට අනුව පිළිවෙලකට ගලපා ගතහොත් මේ වගේ අදහසක් ගන්නට පුළුවන් වෙනවා.

> අහසේ හෝ පොළොවේ හෝ වෙසෙන යම් දෙවි කෙනෙක් හෝ වෙනයම් සත්ත්ව කෙනෙක් මෙතනට පැමිණියා ද, ඒ සැමදනාම සතුටු සිත් ඇත්තෝ වෙත් වා! ඊට පසුව සිත එකඟ කරගෙන ලෞකික හෝ ලෝකෝත්තර සැප, දියුණු කර ගැනීමට හේතුවන මගේ සද්ධර්ම දේශනය ඉතා හොඳින් අසත් වා!

දැන් අපේ පින්වතුන්ට පැහැදිලි වෙනවා ඇති මේ ගාථාවේ සරල තේරුම. එහි විශේෂයක් තියෙනවා. ඒ තමයි අපේ බුදුරජාණන් වහන්සේ එතනට පැමිණි සැම දෙනාම අමතා සෙත් පැතීම, පළමුවෙන්ම සිදුකළ වදාළා. බුදු මුව කමලින් එලෙස සෙත් පැතීමක් ලබන්නට එතනට රැස්වූ පිරිස මොන තරම් වාසනාවන්ත වෙන්න ඕනෑ ද? අපට නම් හිතාගන්නත් අමාරුයි. ඊළඟට සියලු දෙනාට ම කාරුණිකව ආරාධනාවක් කළ වදාළා. ඒ තමයි දේශනා කරන සද්ධර්මය මනාකොට ශ්‍රවණය කරන්න කියලා. එහෙම කාරුණික ඉල්ලීමක් කළ විට හැමෝ ම වෙන වැඩ නවත්වලා අනිවාර්යයෙන් ම ධර්ම ශ්‍රවණයට සූදානම් වෙනවා. මේ ක්‍රමය අද දක්වා ම පවතිනවා.

## දෙවන ගාථාව.

එයත් ශබ්ද නගා ලස්සනට සජ්ඣායනය කරමු.

> **තස්මා හි භූතා නිසාමෙථ සබ්බෙ මෙත්තං කරොථ මානුසියා පජාය**
>
> **දිවා ච රත්තො ච හරන්ති යෙ බලිං තස්මා හි නෙ රක්ඛථ අප්පමත්තා.**

දැන් අර්ථය විමසා බලමු.

**'<u>තස්මාහි</u>'** එනිසා, එබැවින්, **'<u>භූතා</u>'** භූතයෙනි, (එතැනට රැස්වූ පිරිස ඇමතීම පිණිස භාවිත කළ වචනය). '**<u>නිසාමෙථ</u>**' (මේය) හොඳින් අසන්න, ශ්‍රවණය කරන්න. '**<u>සබ්බෙ</u>**'

සියල්ලෝ ම, සියලු දෙනා ම, '**<u>මානුසියා පජාය</u>**' මිනිස් ප්‍රජාවට, '**<u>මෙත්තං කරොථ</u>**', මෛත්‍රී කරන්න, '**<u>දිවා ච රත්තො</u> ච**', දහවල් ද රැයේ ද '**<u>යෙ බලිං</u>**' යම් කෙනෙක් පූජාවක් '**හරන්ති**', ගෙන යනවා ද, **<u>තස්මාහි</u>** එනිසා, එබැවින්, '**<u>නෙ</u>**', ඔවුන් '**<u>රක්ඛථ</u>**', ආරක්ෂා කරන්න, '**<u>අප්පමත්තා</u>**' අප්‍රමාදී ව. මේ විදිහටයි මේ වචනවල තේරුම සඳහන් ව තියෙන්නේ.

> භූතයෙනි, එබැවින් මගෙ මේ දේශනාව හොඳින් අසන්න. සියලු දෙනාම මේ අසරණ මිනිස් ප්‍රජාවට මෛත්‍රී කරන්න. දවා රාත්‍රී දෙකේ ම යම් කෙනෙක් පූජාවක් ගෙන යනවා ද, එබැවින් ඔවුන් අප්‍රමාදී ව ආරක්ෂා කරන්න.

අපි ඒ ගැන තව ටිකක් විමසා බලමු. මේ ගාථාවෙන් මුලින් ම එතැනට පැමිණි පිරිසට කාරුණික ව අමතා ඉතා හොඳින් සද්ධර්මය අසන්නට කියලා ඒ අයට යළිත් සිහිපත් කළ වදාරා තියෙනවා. මොක ද, බුදුරජාණන් වහන්සේ කෙනෙකුගෙන් සද්ධර්මය අසනවා කියන එක අතිශය දුර්ලභ කරුණක් වෙනවා. ඒක හැමදා ම, හැමෝට ම, හැමතැනදී ම, ලැබෙන දෙයක් නෙවෙයි. මේ සම්මා සම්බුදුරජාණන් වහන්සේ කෙනෙක් පහළ වූ යුගයක් නිසා අපට නිතරම සද්ධර්මය අසන්නට ලැබෙනවා. ඒක ඉතා කෙටි කාලයයි. කල්ප ගණන් සද්ධර්මයක් අසන්නට ලැබෙන්නේ නැහැ. දහම්සොඬ ජාතකය කියවලා තියෙන අපේ පින්වතුන්ට ටිකක් දුරට හෝ පැහැදිලි වෙනවා ඇති. ඊළඟට බුදුරජාණන් වහන්සේ එතනට පැමිණි දෙවියන්ට විශේෂයෙන් සිහිපත් කළ වදාළා, සියලු දෙනාම මේ අසරණ මිනිස් ප්‍රජාවට මෛත්‍රී කරන්න කියලා. මොක ද, මේ මිනිස්සු දැන් දුකට පත්වෙලා සිටින කාලයක්. ඉදින් ඒ දුකින් මිදෙන්නට මිනිස්සු බොහො දේවල් කරනවා. සමහරු දෙවියන් උදෙසා පුද පූජා කරනවා. සමහරු ඒ පූජා දහවල් කාලයටත් කරනවා. සමහරු රාත්‍රී කාලයටත් කරනවා. සමහරු දිවා රාත්‍රී දෙකේ ම කරනවා. එනිසා අපේ බුදුරජාණන් වහන්සේ දෙවියනටත් මේ අසරණ මිනිස් ප්‍රජාවට උදව් කරන්න කියලා කාරුණික ඉල්ලීමක් කර වදාළා. එදා වගේ ම අදත් අසරණ මිනිස්සු දෙවියන්ගෙන් පිළිසරණ පතනවා. එය ඈත අතීතයෙ සිට මිනිස් සිත්වල ඉතා තදින් බැඳුන දෙයක්. එනිසා එම මිනිසුන් වඩා හොඳින් සුවපත් කරන්නට දෙවියටත් මතක් කළ වදාළා. සියලු යහපත කළ හැකි වන්නේ තමාට පමණයි

කියන අනුවණ හැඟීම සම්මා සම්බුදු රජාණන් වහන්සේට නැහැ. සෙසු අයටත් තම තමන්ගේ දැනුමේ සහ හැකියාවේ පමණින් කළහැකි යහපත් තිබෙනවා. ඒ සඳහා තිබෙන අවකාස අවහිර කිරීමක් කිසිඳු ආකාරයෙන් මෙහි සිදු වී නැහැ. උසස් කෙනෙක් තමන්ගේන් මොනවා හරි ඉල්ලීමක් කළොත් එය ඉටු කරන්නට කිසිසේත් ම, කිසිවෙක් හැකිලෙන්නේ, පැකිලෙන්නේ නැහැ, මැළි වන්නේ නැහැ. අනිවාර්යයෙන් ම ඒ ඉල්ලීම ඉටු කරන්නට උත්සාහවත් වෙනවා. අන්න ඒක දැනගෙන අපේ බුදුරජාණන් වහන්සේ එතනට රැස් වූ දෙවියන්ගෙනුත් ඉල්ලීමක් කළ වදාළා. එහෙම ඉල්ලීමක් අපේ බුදුරජාණන් වහන්සේ කළ බව මිනිස් ප්‍රජාව දැනගත් විට දී, එයට තවත් සතුටු වෙනවා. දෙවියන්ගේ ආරක්ෂාව, රැකවරණය පිහිට බලාපොරොත්තුවෙන් මිනිස්සු නොයෙකුත් පුද පූජා කරනවා. එය එදා වගේ ම අදටත් එලෙසමයි. අපේ බෞද්ධ ප්‍රජාවත් අසරණ වන අවස්ථාවල මොන තරම් නම් දෙවියන්ගේ පිහිට පතාගෙන දේවාල ගානේ යනවා ද කියල බලන්න. අනුන් ගැන නෙවෙයි තමන් ගැන ම ටිකක් සිතා බලන්න. මෙසේ මෙත් සිත් වැඩීම හැමෝට ම අදාළ වන යහත් ක්‍රියාවක්. අසරණ අයත් අවංකව මෙත් සිත් වඩා සිත් පිරිසිඳු කර ගැනීමෙන් සමස්ථ පරිසරයම පිරසිඳු වෙනවා. දේව ආරක්ෂාව හොඳට ලැබෙනවා. ඊළඟට අපේ බුදුරජාණන් වහන්සේ තෙරුවන් ගුණ සිහිපත් කර අසරණ මිනිසුනට ආරක්‍ෂාව සැලසෙන ලෙස ආශිර්වාද කළ වදාළා.

අනතුරුව අපේ බුදුරජාණන් වහන්සේ තෙරුවන් ගුණ සිහිපත් කරමින් මිනිස් ප්‍රජාව වෙත සත්‍යයක් ක්‍රියා කර ආශීර්වාද කළ වදාළා. දැන් අපි අපේ සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ ක්‍රමවේදය විමසා බලමු.

## තෙවන ගාථාව.

පළමු ව බුදු ගුණ පිළිබඳ කියවෙන මේ ගාථා රත්න හඩ නගා සජ්ඣායනය කරමු.

**යං කිඤ්චි චිත්තං ඉධ වා හුරං වා, සග්ගෙසු වා යං රතනං පණීතං**

**න නො සමං අත්ථි තථාගතෙන, ඉදම්පි බුද්ධෙ රතනං පණීතං**

**එතෙන සච්චෙන සුවත්ථි හොතු.**

**<u>යං කිඤ්චි</u>** යම්කිසි, **<u>විත්තං</u>** සම්පතක් නැතිනම් ධනයක්, **<u>ඉධ වා හුරං වා</u>** මෙහි හෝ මෙයින් බැහැර වෙනත් තැනක හෝ වෙන ලොවක, **<u>සග්ගෙසු වා</u>** දෙව්ලොව හෝ, **<u>යං රතනං පණීතං</u>** යම්කිසි ප්‍රණීත, උතුම් රත්නයක් වේ ද, **<u>තථාගතෙන සමං</u>** තථාගතයන් වහන්සෙ හා සම වූ, **<u>න නො අත්ථි</u>** ඇත්තේ නැහැ. **<u>ඉදම්පි (ඉදං+අපි)</u>** මෙය ද, **<u>බුද්ධෙ</u>** බුදු රජාණන් වහන්සේ කෙරෙහි ඇත්තා වූ, **<u>රතනං පණීතං</u>** උතුම් ප්‍රණීත රත්ත භාවයයි, **<u>එතෙන සච්චෙන</u>** මේ සත්‍යය බලයෙන්, **<u>සුවත්ථි හොතු</u>** සෙත් වේවා!

> මේ මිනිස් ලොව හෝ මෙයින් බැහැර වෙනත් ලොවක හෝ දෙව්ලොව හෝ යම්කිසි සම්පතක් නැතිනම් ධනයක් වෙයි ද, උතුම් රත්නයක් වේ ද තථාගතයන් වහන්සෙ හා සම වූ සම්පතක් ඇත්තේ නැහැ. මෙය ද බුදු රජාණන් වහන්සේ කෙරෙහි ඇත්තා වූ, උතුම් ප්‍රණීත රත්ත භාවයයි. මේ සත්‍යය බලයෙන් සෙත් වේ වා!

මෙය බුදුරජාණන් වහන්සේ විසින් සිදුකරන උදාර සත්‍යයක් ක්‍රියාවක්. මේ ගාථාවේ වචනවල තේරුම එහෙමයි. වචනවල තේරුම දැනගත්තාට ගාථාවේ අදහස් තේරුම් ගන්න අමාරුයි. පාලි භාෂාවෙන් තිබෙන දෙයක් සිංහලයට ගැනීමේ දී අපට අවශ්‍ය වෙනවා වචන නිසි පරිදි එහා මෙහා කරලා තේරුම් ගන්න. ඒ වගේ ම සමහර නොයෙදුන වචන යොදාගන්න වෙනවා. මේ ගාථාවෙන් ප්‍රකාශ වන්නේ බුදුගුණ පිළිබඳවයි. බුදු ගුණ අනන්තයි. ඒ වගේ ම කිසිවකට හෝ කිසිවෙකුට සම කරන්නට බැහැ. මේ ගාථාවෙන් කියවෙන්නෙත් එයමයි. මේ මිනිස් ලොව හෝ වෙන යම් ලොවක, ඒ කියන්නේ කාම ලෝකයේ හෝ රූප ලෝකයේ හෝ අරූප ලෝකයේ හෝ ප්‍රීතිය, සැනසීම, සෞභාග්‍යය ගෙන දෙන යම්කිසි ධනයක් හෝ වස්තුවක් තියෙනවා නම් ඒ සියලු ධනයට හෝ වස්තුවට වඩා බුද්ධ රත්නය උසස් බවයි පෙන්වා දෙන්නේ. සමහර විට මෙම වස්තූන් ජීව අජීව ඕනෑම ආකාරයෙන් තිබෙන්න පුළුවන්. කොහොම වුවත් ඒ කිසිම සම්පතක්, ධනයක් හෝ ඒ කිසිම කෙනෙක් බුදුගුණ වලට සමාන කරන්න බැහැ. බුදුගුණ ම උසස් වෙනවා. බුදුගුණ ම ශ්‍රේෂ්ඨ වෙනවා. බුදුගුණම උතුම් වෙනවා. එය ලොව පවත්නා උදාර සත්‍ය ධර්මයක්. එය බොරුවක් නෙවෙයි. කිසිවෙකුටත් එය බොරු කිරීමේ හැකියාවකුත් නැහැ. ඉතිං ඒ සත්‍යය දෙය පදනම් කරගෙන, අපේ බුදුරජාණන් වහන්සේ සත්‍ය ක්‍රියාවක් කළ වදාළා. ඒ සත්‍යය බලයෙන් සියලු සත්වයෝ සුවපත් වෙත් වා! යනුවෙන් ආශිර්වා ද කළ වදාළා.

අපි මේ අදහස තව ටිකක් විමසා බලමු. එහෙම හොඳයි නේ ද? මේ ලෝකේ මිනිස්සු වටිනවා කියලා හිතන, පිළිගත්ත බොහෝ සම්පත් තියෙනවා. රන් රෙදි, මුතු මැණික්, මිල මුදල් ආදී වස්තු, සම්පත් ඒ අතර වෙනවා. ඒවාට ජීවයක් නැහැ. එහෙම වුවත් අපට ඒවායෙන් ලැබෙන යහපත අපමණයි. මෙකල ඒවායෙන් තොර ගෘහස්ථ ජීවිතයක් ගැන හිතන්න වත් බැහැ. සාමාන්‍යයෙන් ලෞකික ජීවිතය පවත් වන්නට ඒවා නැතුව ම බැහැ, කියලා හිතනවා. විශේෂයෙන් ම ගිහි ජීවිතයක් ගත කරන අය ඒ අයගේ ජීවන තත්ත්වය උසස් කර ගැනීමට, වර්ණවත් කරගැනීමට ඒවා අවශ්‍ය වෙනවා. ගිහි ජීවිතය උසස් තත්වයෙන් පවත්වා ගන්නට, වැදගත් ලෙස පවත්වා ගන්නට බොහොම උපකාර වෙනවා. එහෙත් ඒවායෙන් සිදුවෙන අනතුරුත් අපමණයි. සතුරු උවදුරු, බිය සැක, ජීවිත හානි ආදිය ඇතිවෙනවා. ඒ වගේ ම ඒවා වෙනස් වෙනවා, විනාශ වෙනවා, අනිත්‍ය ස්වභාවයෙන් යුක්තයි. එම සම්පත් සුරක්ෂිත ව පවත් වා ගන්නටත් අපමණ වෙහෙසක් දරන්න වෙනවා. මේ නිසාත් දුක ඇති වෙනවා. ඊටත් වඩා භයානක දේ තමා චිත්ත සන්තානයේ කෙලෙස් වැඩීම. විශේෂයෙන් ම තණ්හාව වැඩෙනවා. අපාගාමී අකුසල් සිත් වැඩෙනවා. මිසදිටු අදහස් පහළ වෙනවා. මේ සම්පත්වලට ඇතිවෙන ආසාව, තණ්හාව, මානය නිසා මිනිස්සු බොහෝ පව්කම් කරන්නට පෙළඹෙනවා. සිත අපිරිසිදු වෙනවා, දූෂණය වෙනවා. මිනිස් කම, සදාචාරය ආදී සියල්ලම දූෂණය වෙනවා. මේ ජීවිතයේ පමණක් නෙවෙයි, මරණින් මතු අපායේ උපදින්නටත් හේතු වෙනවා. කල්ප ගණනින් දුගති වල දුක් විඳින්නට සිදුවෙනවා. ඒ වගේ ම එම සම්පත් අපේ ශක්තිය තිබෙන තුරු පමණයි අපට උපකාර වන්නේ. අපේ ශරීර ශක්තිය දුර්වල වෙන දවසට ඒ සම්පත් අප වෙත පැමිණ සහාය වන්නේ නැහැ. මරණයේදී සියලු සම්පත් සම්පූර්ණයෙන් ම අතහැර යන්නට සිදුවෙනවා. සම්පත් විපත් බවට පත් වෙනවා. තමන්ට කියලා නූල් පොටක තරම් වත් දෙයක් ගෙන යන්න ලැබෙන්නේ නැහැ. එහෙම ගෙන ගිය කෙනෙක් පිළිබඳ අහන්න වත් ලැබෙන්නෙ නැහැ. තම තමන් විසින් ඉතාම ආදරයෙන් කවා පොවා ඉමහත් සැලකිල්ලෙන් පෝෂණය කළ ශරීර පවා අතහැර යන්නට සිදුවෙනවා. මරණයේ දී හෝ මරණින් පසු එම සම්පත් කිසිවක් අපට පිහිට වන්නේ නැහැ. තම කායික, මානසික නිරෝගි කම තිබෙන තුරු පමණක් පවතින,

කෙලෙස් වැඩීමට හේතු වන, මේ ධන සම්පත් පිළිබඳ ව බුදුරජාණන් වහන්සේ මනාකොට හඳුනාගෙන අපට ද ඒවායේ ආදීනව දේශනා කොට වදාළා.

මේ සියලු ජීව අජීව සම්පත් පිළිබඳව විමසා බලද්දී අපේ සම්මා සම්බුදුරජාණන් වහන්සේ අපට ජීවමාන යි. එය මහා සම්පතක්. සම්මා සම්බුදුරජාණන් වහන්සේ අපට ජීවමාන ආර්ය සම්පතක්, මහා වස්තුවක්, මහා රත්නයක්. අසම වූත්, අසම සම වූත් ආර්ය මහා සම්පතක්. අතිශය දුර්ලභ ආර්ය රත්නයක්. මේ අසම සම ආර්ය රත්නයට සම කළහැකි කිසිදු රත්නයක් මේ තුන් ලෝකයේ වෙන කිසි තැනක හමු වන්නේ නැහැ. සම්මා සම්බුදුරජාණන් වහන්සේ කෙනෙකුගේ ගුණය අනන්තයි, අපරිමිතයි. කිසිම කෙනෙකුට කිසිම දවසක බුදුගුණ කියා, ලියා, ගයා නිම කරන්න පුළුවන්කමක් නැහැ. අපට පමණක් නොව තවත් සම්මා සම්බුදු රජාණන් වහන්සේ කෙනෙක් සිය ජීවිත කාලය පුරාවට ම බුදුගුණ පමණක් දේශනා කළත්, ඒ බුදුගුණ අවසන් කරන්න පුළුවන්කමක් නැහැ. සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ ජීවිතය කෙළවර වෙනවා පමණයි වන්නෙ. ඉතින් අපි වගේ කෙනෙක් බුදුගුණ කියා නිම කරන්නේ කෙසේද? කිසිම දවසක කළ නොහැකියි. සම්මා සම්බුදුරජාණන් වහන්සේ කෙනෙකුගේ බුදුගුණයක් ගෙන එක මොහොතක් භාවනා වශයෙන් වැඩුවත් ලැබෙන ආනිසංස අපමණයි. සම්මා සම්බුදු රජාණන් වහන්සේ පිරිනිවන් පා වදාළා කියා බුදු ගුණ භාවනාවේ ආනිසංස අඩු වීමක් නැහැ. ඉතින් ඒ බුදු ගුණයක් බොහෝ කොට වැඩුව හොත් කොපමණ ආනිසංස ලැබෙවි ද? බුදුගුණ මෙනෙහි කරන්න, මෙනෙහි කරන්න අපේ සිතට දැනෙන්නේ මහා පුදුම බලයක්, මහා පුදුම ශක්තියක්, මහා පුදුම ආරක්ෂාවක්, මහා පුදුම රැකවරණයක්. මුළු සංසාර ගමන පුරාවට ම ඒ ශක්තිය බලය, රැකවරණය අපට ලැබෙනවා. කිසිම දවසක මොන ම ආකාරයෙන් වත් අයහපතක් සිදුවන්නේ නැහැ. සිතෙහි ඇති රාග, ද්වේෂ, මෝහ ආදී අකුසල බල ශක්ති සම්පූර්ණයෙන් ම දුරුකර, සිත පිරිසිදු කරනවා. මොහොතින් මොහොත සිත පිරිසිදු කර නිවනට පමුණුවනවා. බුදු සරණ ගිය කිසිම කෙනෙක් මොනම ආකාරයෙන් වත් අපායගාමී වන්නේ නැහැ. අපායගාමී වීමට කිසිම හේතුවක් නැහැ. සැම විට ම මිනිස් ලොව නැතිනම් දෙව්ලොව ආදී සුගතියක ම උපත ලබනවා. අපට අපේ දිවි තිබෙන තුරු,

මරණයේ දී, මරණින් මතු, සසර ගමන අවසන් කරන තුරු මහා කළණ මිතුරකු ව පිහිට වන්නේ බුද්ධ රත්නයමයි. එබඳු රත්නයක් ලොව වෙනත් කිසි තැනක හමු වන්නේ නැහැ. ඉතින් එය ම බුද්ධ රත්නය මහා සම්පතක් වීමට ප්‍රමාණ වත් වෙනවා. බුදුගුණ මෙනෙහි කරන, බුදු සරණ ගිය කිසිම කෙනෙක් නිසා තමාට හෝ සමාජයට කිසිම හානියක් සිදුවන්නේ නැහැ. සිදුවන්නේ යහපතක්මයි, ගෙන දෙන්නේ සැපතක්මයි. හොරකම, වංචාව, දූෂණය සම්පූර්ණයෙන් ම සමාජයෙන් තුරන් වෙනවා. හිංසනය, සතුරු උවදුරු, යුද බිය ආදිය තුරන් කර සමස්ත සමාජයට ම සාමය, සෞභාග්‍යය ගෙන දෙන්නට බුද්ධ රත්නය උපකාරී වෙනවා. මේ ලොව සියලු ම මානසික ගැටළු, රෝග නිවාරණය කර සුව පත් කරනවා. මෙන්න මේ නිසයි බුද්ධ රත්නය සියලු රත්නයන්ට වඩා උසස් වෙනවා කියලා පෙන්වා දෙන්නේ.

මිනිසාගේ සාර්ථක ලෞකික දියුණුව, ඒ වගේම ලෝකෝත්තර දියුණුව සලසා ගන්නට නම් බුද්ධ රත්නය ම  අවශ්‍ය වෙනවා. හේතුඵල දහම, චතුරාර්ය සත්‍යය, ආර්ය අෂ්ටාංගික මාර්ගය මේ ආදී ආර්ය ධර්ම ලොවට දායාද වන්නේ බුද්ධරත්නය නිසාමයි. බුද්ධ රත්නය පහළ වීමත් සමඟ ධම්මරත්නයත්, සංඝරත්නයත් පහල වෙනවා. අපේ සම්මා සම්බුදුරජාණන් වහන්සේ ලොව පහළ වී දැන් සියවස් විසි හයකටත් අධිකයි. පිරිනිවන් පා වදාරා සියවස් විසි හයකට ආසන්න වෙනවා. එහෙත් දේශනා කොට වදාළ ශ්‍රී සද්ධර්මය අදටත් ජීවමානයි. ජීවමාන ආර්ය මහා සංඝරත්නය වැඩවසනවා. මෙනිසා සම්මාසම්බුදුරජාණන් වහන්සේගෙන් සිදු විය යුතු සේවාව අදටත් නො අඩුව සිදුවෙනවා. එනිසා බුද්ධ රත්නයේ අඩුවක් අප කාටවත් දැනෙන්නේ නැහැ.

සම්මාසම්බුදුරජාණන් වහන්සේ කෙනෙකුගේ පහළ වීම ලොව අතිශය දුර්ලභ කාරණාවක්. සම්මා සම්බුදුරජාණන් වහන්සේ කෙනෙක් පහළ නොවුන හොත් කිසි දවසක ධර්මරත්නය පහළ වන්නේත් නැහැ. ආර්ය මහා සංඝරත්නය පහළ වන්නෙත් නැහැ. පින්වත්නි, අපි හරි වාසනාවන්තයි. අපි ඉපදිලා තියෙන්නේ තෙරුවන් පහළ වී පවතින ලෝකයකයි. එනිසා නො පමාව අපි මේ තෙරුවන් ගුණ නිවැරදි ව හඳුනාගන්න වෙනවා. මේ කාලයේ අන්ධ මිනිසුන් වගේ හැසිරුනොත් අපි හරි අවාසනාවන්ත වෙනවා. පින්වත්නි, ඔබ කැමතිද, ඒ වගේ අවාසනාවන්ත කෙනෙක් වෙන්න? කැමති

ද, අන්ධයන් වගේ ජීවිත කාලය ගෙවා මරණයට පත්වන්න? කැමතිනම් ඉතින් කමක් නැහැ. ඒක තමන්ගේ කැමැත්තනේ. ඒ වගේ ම අනන්ත දුක් සාගරයට ගොදුරු වන්නෙත් ඔබ ම තමා. එහෙත් මේ ලෝකයේ නුවණැති මිනිස්සු හැමදෙනා ම, සැම විට ම මේ අනන්ත තෙරුවන් ගුණ හඳුනාගෙන සීල, සමාධි, ප්‍රඥා වඩමින් චතුරාර්ය සත්‍ය ධර්මය අවබෝධ කොට නිවන් සුව සාක්ෂාත් කරන්නට පුදුම වෙහෙසක් ගන්නේ. ඒ සමඟ ම ඒ අය ලෞකික දියුණුව ලෝකෝත්තර දියුණුව, සතුට, සැනසිල්ල උදා කර ගන්නවා. ඒ අය කිසිවිටෙකත් කැමති නැහැ අන්ධයන් වගේ, මන්ද බුද්ධිකයන් වගේ ජීවිත ගත කරලා මරණයෙන් පසු අපායගාමී වන්න. කෙටියෙන් ම කියනවනම් සංසාරයේ දුක් විඳින්නට කැමති නැහැ. ඒ අය සැම මොහොතක ම සසර දුක් නිම කොට, නිවන් සුව සාක්ෂාත් කරගන්නට ම මොහොතින් මොහොත ක්‍රියාත්මක වෙනවා. ඒ ආකාරයට නුවණැති සැම දෙනාම කටයුතු කරනවා. එනිසා තෙරුවන් ගුණ මනාකොට හඳුනා ගෙන ඉතාම ලස්සන, අලංකාර ජීවිත ගත කරන්නට මේ සැම දෙනාම කටයුතු කරනු ඇතැයි අපි විශ්වාස කරනවා. මෙලෙස මේ ලෝකයේ මිනිස් ප්‍රජාවට පමණක් නෙවෙයි, කිසිම සතෙකුට වත් අබමල් රේණුවක තරම් වත් අයහපතක් සිතින් වත් නො කර, යහපත පමණක් ම සිදු කරන නිසා තමයි බුද්ධ රත්නය ලෝකයේ පවතින සියලු රත්නයන්ට වඩා උසස් වන්නේ. එය අපි මනා සිහි නුවණින් තේරුම් අරගෙන කටයුතු කළ හොත් අපට උදාවන සැපත කියල නිම කරන්න බැහැ.

## සිච්චන ගාථාව

දැන් අපි සජ්ඣායනය කරමු, ධර්මරත්නය පිළිබඳව කියැවෙන ගාථාව. හැමෝ ම හඬ නගා සජ්ඣායනය කරන්න.

**ඛයං විරාගං අමතං පණීතං, යදජ්ඣගා සක්‍යමුනී සමාහිතො**

**න තෙන ධම්මෙන සමත්ථි කිඤ්චි, ඉදම්පි ධම්මෙ රතනං පණීතං**

**එතෙන සච්චෙන සුවත්ථි හොතු.**

බොහොම හොඳයි, දැන් අපි කෙටියෙන් අර්ථය විමසා බලමු.

පින්වත්නි, මේ ගාථාවේ බුදුගුණ ගැනත් කියවෙනවා. සදහම් ගුණ ගැනත් කියවෙනවා. පළමු ව වචනයෙන් වචනය තේරුම විමසා බලමු.

**<u>ඛයං</u>** ක්ෂය කළාවූ, **<u>විරාගං</u>** විරාග වූ, රාගය දුරු කළා වූ, **<u>අමතං</u>** මරණයක් නැති නිසා අමත නම් වූ, **<u>පණීතං</u>** ප්‍රණීත වූ, **<u>යදජ්ඣගා</u>** යම් නිවන් සුවයක් අවබෝධ කළ සේක්ද, **<u>සක්‍යමුනී</u>** ශාක්‍ය මුනීන්ද්‍රයන් වහන්සේ, **<u>සමාහිතෝ</u>** එකඟ වූ සිත් ඇති, **<u>තෙන ධම්මෙන</u>** ඒ සද්ධර්මය හා, **<u>සමං</u>** සමන වූ, **<u>කිඤ්චි න අත්ථි</u>** කිසිවක් නොමැත, **ඉදම්පි** (ඉදං+අපි) මෙය ද **<u>ධම්මෙ</u>** ධර්මයෙහි, **<u>රතනං</u>** රත්නය (මෙම රත්න භාවය), **<u>පණීතං</u>** ප්‍රණීතය, උතුම් ය. **<u>ඒතේන සච්චේන</u>** මේ සත්‍යයේ බලයෙන්, **<u>සුවත්ථි හොතු</u>** සෙත් වේ වා!

> එකඟ වූ සිත් ඇති ශාක්‍ය මුනීන්ද්‍රයන් වහන්සේ (රාග, දෝස, මෝහ) ක්ෂය කළාවූ, විරාග වූ (රාගය දුරු කළා වූ) මරණයක් නැති බැවින් අමත නම් වූ යම් නිවන් සුවයක් අවබෝධ කළ සේක්ද, ඒ සද්ධර්මය හා සමන වූ කිසිවක් නොමැත. ධර්මයෙහි මෙම රත්න භාවය ද උතුම් ය. මේ සත්‍යයේ බලයෙන් සෙත් වේ වා!

මෙම ගාථාවෙන් සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ ගුණ පිළිබඳවත්, ශ්‍රී සද්ධර්මයේ ස්වභාවය පිළිබඳවත් ප්‍රකට වෙනවා. **සමාහිතෝ** කියන පදය අපේ සම්මා සම්බුදුරජාණන් වහන්සේ හඳුන් වන්නට භාවිත කළ විශේෂණ පදයක්. අපේ සම්මා සම්බුදුරජාණන් වහන්සේ ආර්ය සමාධිය, එහෙම නැත්නම් සම්මා සමාධිය ඉහළට ම දියුණු කළ වදාළා. නිවන් මඟ වඩන කෙනෙකුට සම්මා සමාධිය උසස් ලෙස දියුණු කිරීමට අවශ්‍ය වෙනවා. මෙය ආර්ය අෂ්ඨාංගික මාර්ගයේ සඳහන් වන විශේෂ අංගයක්. ඒ ගැන අපේ පින්වතුන් ආර්ය අෂ්ටාංගික මාර්ගය ඉගෙන ගැනීමෙන් තේරුම් ගන්නවා. ගැඹුරු, ඉතා පිරිසිදු සමාධිමත් සිතකට පැහැදිලි ව යථාර්ථය දකින්නට පුළුවන්, ඇත්ත ඇති සැටියෙන් දැකීමේ ශක්තිය ලැබෙන්නේ සමාධිමත් සිතක් ඇති පුද්ගලයාටයි. නිවැරදි ව විදර්ශනා නුවණ දියුණු වන්නේ ගැඹුරු සම්මා සමාධිය ඇති අවස්ථාවේ දී. ඉතිං අපේ බුදුරජාණන් වහන්සේට ඒ සමාධිමත් සිත උපරිමයෙන් තිබෙන නිසයි මේ **සමාහිතෝ** කියන පදයෙන් පෙන්වා දෙන්නේ. අපේ බුදුරජාණන් වහන්සේ **සාක්‍ය** කුලයෙන් බිහි වූ මුණිවරයෙක්. සිද්ධාර්ථ බෝසතාණන් වහන්සේ අවසන් වරට උපත

ලැබුවේ ශාක්‍ය කුලයේ. ඒ බව අපේ පින්වතුන් හොඳට දන්නවා. එකල ඉතාම පිරිසිදු පිළිගත් උසස් කුළයක් හැටියට එම කුලය හඳුන්වා දෙනවා. හේතු ඵල ධර්මතාවයට අනුව සම්මා සම්බෝධියට පත්වන මහෝත්තමයන් වහන්සේලා කිසි කලෙක අපිරිසිදු පහත් කුලයක උපදින්නේ නැහැ. පංච මහා විලෝකනයේදීත් කුලය පිළිබඳව සැලකිලිමත් වෙනවා. ඉතිං අපේ බුදුරජාණන් වහන්සේගේ බිහිවීම සඳහා වඩා ම සුදුසු කුලය, ඉතාම පිරිසිදු කුලය ලෙස පරම්පරා කීපයක් තිස්සේ ම සකස් වෙමින් පැවතියේ ශාක්‍ය කුලයයි. අපේ බෝසතාණන් වහන්සේ සම්බෝධියට පැමිණීමෙන් පසුව ද කුල නාමය භාවිත කර තිබෙනවා. ශාක්‍ය කුලයේ උපත ලබා මුනිවරයකු වීමේ හේතුවෙන් **ශාක්‍යමුනි** කියන නම භාවිත කර තිබෙනවා.

ඊළඟට අවබෝධ කරගත්ත ධර්මය වචන කීපයකින් පැහැදිලි කරනවා. **ඛයං** කියන වචනයෙන් පැහැදිලි කරන්නේ ක්ෂය කලා, ගෙවා දැම්මා, විනාශ කලා කියන අර්ථයයි. මොනව ද ක්ෂය කළේ? රාගය ක්ෂය කළා, ද්වේශය ක්ෂය කළා, මෝහය ක්ෂය කළා, මේ ආදී වශයෙන් සන්තානගත සියලු ම ක්ලේශයන් ක්ෂය කළා, විනාශ කළා, නැති කළා, භංග කළා කියන අදහස මෙයින් ප්‍රකාශ වෙනවා. **විරාගං** කියලා වචනයක් භාවිත කර තියෙනවා. රාගය දුරු කළ නිසා විරාග වෙනවා. රාගය තරම් භයානක ගින්නක් මේ ලෝකයේ කොතැනකවත් නැහැ. මේ ලෝකයේ සිදුවන විනාශයන් සියල්ලට ම රාගය පදනම් වෙනවා. රාගය එතරම් ම දරුණු ගින්නක්. එය බාහිර ලෝකයේ හමුවන සියලු ගිනි වලට වඩා භයානක ම ගින්න තමා **රාග ගින්න**. අප සන්තානගත සියලු කුසල ශක්තීන් දවා විනාශ කොට සසර ගමන පුරාවට ම දුගතියට ඇද දමා දුක ම උරුම කරන මහා ගින්න. සාමාන්‍ය අපි භාවිත කරන ගිනි හෝ ලැව් ගිනි වගේ ම බඩ ගිනි, සෝ ගිනි ආදිය හේතුවෙන් අප මරණයට හෝ මරණය හා සමාන දුකකට පමුණු වනවා. එහෙත් රාගය නමැති ගින්න සසර ගමන පුරාවට ම අප දවාලනවා. එනිසයි නැවතත් විශේෂ කොට ගෙන සඳහන් කර ඇත්තේ. ඊළඟට **අමතං** කියන වචනය භාවිත කර තියෙනවා. ඒකෙන් අදහස් කරන්නේ මරණයක් නැහැ කියන අදහසයි. සිත සම්පූර්ණයෙන් ම රාග, දෝස, මෝහ වලින් ඉවත් වූ විට නිවන් සුව අවබෝධ කර ගන්නවා. පරිපූර්ණ ලෙස නිවන් සුව අවබෝධ කරගත් කෙනෙකුට යළි

කිසිදු උපතක් ඇත්තේ නැහැ. යළි උපතක් නැත්නම් යළි මරණයකුත් නැහැ. එයින් අදහස් කරන්නේ නැහැ, මේ ජීවිතයේදී මරණයක් නැහැ කියලා. කවුරු වුණත් උපතක් ලැබුවා නම් මරණය නියතයි. නියත මරණය කුමන හේතුවක් නිසා වත් අනියත වන්නේ නැහැ. එනිසා මරණය නියතයි. එහෙනම් මරණය නැති වන්නට අනිවාර්යයෙන් උපත නැති වන්නට ම වෙනවා. මෙහි මරණයක් නැහැ කියන වචනයෙන් හඳුන්වා දෙන්නේ යලි උපතක් නැහැ කියන එකයි. අන්න එවිට යලි කිසි කලෙක මරණය නැහැ. එනිසා **අමත** කියන වචනය භාවිත වෙනවා. නිවන් සුව අවබෝධ කරන කෙනෙකුට, විශේෂයෙන් රහතන් වහන්සේ කෙනෙකුට යළි කිසිදු උපතක් නැති බැවින් යළි මරණයක් ද නැහැ. එය නිවනේ ස්වභාව යයි. එය ධර්මයේ ද ස්වභාව යයි. යලි කිසි කලෙක ජාති, ජරා, ව්‍යාධි, මරණ, ශෝක, පරිදේව, දුක්ඛ, දෝමනස්ස ආදී කිසිවකට ලක් නොවන බැවින් **ප්‍රණීත** නම් වේ, උතුම් වේ. එය ධර්මයෙහි පවත්නා උතුම් ලක්ෂණ යයි. ඒ උතුම් ලක්ෂණයේ සත්‍ය බලයෙන් සෙත් වේ වා! කියලා ආශිර්වාද කරනවා. සත්‍ය ක්‍රියාවක් කරනවා. බුදුරජාණන් වහන්සේට වගේ ම අපටත් එවැනි සත්‍ය ක්‍රියාවන් කරන්නට පුළුවන්. එහෙත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ ට තරම් අපට බල ශක්තියක් නැති නිසා අපේ සත්‍ය ක්‍රියාවන් එතරම් බලවත් වන්නේ නැහැ. අපට ඇත්තේ අප විසින් දියුණු කරන ලද ශක්තියේ බලයට අනුව ලැබෙන බලයක් පමණයි. ඒ පිළිබඳවත් මෙහි දී අපි තේරුම් ගත යුතු වෙනවා.

මේ ගාථාවෙන් තවත් කාරණා ගණනාවක් හෙළි වෙනවා. ඒ තමයි අපේ සම්මා සම්බුදුරජාණන් වහන්සේ කිසි කලෙක අවබෝධ නොකළ දහමක් දේශනා කළ වදාළේ නැති බව. දම්සක් පැවතුම් සූත්‍ර දේශනාවෙන් ද මනාකොට එය පැහැදිලි වෙනවා. පහත සඳහන් ධර්ම පාඨයෙන් ද එය වඩා හොඳින් පැහැදිලි වෙනවා.

**බුද්ධො සො භගවා බොධාය ධම්මං දෙසෙති,**

**දන්තො සො භගවා දමථාය ධම්මං දෙසෙති,**

**සන්තො සො භගවා සමථාය ධම්මං දෙසෙති,**

**තිණ්ණො සො භගවා තරණාය ධම්මං දෙසෙති,**

**පරිනිබ්බුතො සො භගවා පරිනිබ්බානාය ධම්මං දෙසෙතී'ති**

මේක සඳහන් වෙන්නේ දීඝනිකායේ පාථික වර්ගයේ උදුම්බරික සූත්‍රයේ. බුදුරජාණන් වහන්සේ පිළිබඳව හරි ලස්සන පැහැදිලි කිරීමක්. තේරුම දෙස අවධානය යොමු කළොත් අපට හොඳට පැහැදිලි වෙනවා.

“ඒ භාග්‍යවතුන් වහන්සේ සත්‍යය අවබෝධ කළ සේක් ම, අන් අයට ද සත්‍යය අවබෝධය පිණිස ම දහම් දේශනා කරන සේක. ඒ භාග්‍යවතුන් වහන්සේ ඉන්ද්‍රිය දමනයෙන් යුක්ත වූ සේක් ම, අන් අයට ද ඉන්ද්‍රිය දමනය පිණිස ම දහම් දේශනා කරන සේක. ඒ භාග්‍යවතුන් වහන්සේ ශාන්ත වූ සේක් ම, අන් අයට ද ශාන්ත භාවය පිණිස ම දහම් දේශනා කරන සේක. ඒ භාග්‍යවතුන් වහන්සේ කාමාදී සැඩ පහරවල් තරණය කළ සේක් ම, අන් අයට ද කාමාදී සැඩ පහරවල් තරණය කරනු පිණිස ම දහම් දේශනා කරන සේක. ක්ලේශ පරිනිර්වාණය කළා වූ ඒ භාග්‍යවතුන් වහන්සේ, අන් අයට ද කෙලෙස් පරිනිර්වාණය පිණිස ම දහම් දේශනා කරන සේක.”

මේ අනුව, මේ දහම් ගාථා පාඨයෙන් ද අපට වැදගත් දෙයක් පෙන්වා දෙනවා. **‘සමාධිමත් සිතක් දියුණු කළා වූ ඒ භාග්‍යවතුන් වහන්සේ අන් අයට ද සමාධිය දියුණු කිරීම පිණිස ම දහම් දේශනා කළ සේක**’ කියන ප්‍රකාශය අපට නිර්මාණය කරගන්නට පුළුවන් වෙනවා. තවත් අවස්ථාවක දී අපේ බුදුරජාණන් වහන්සේ පැහැදිලි කර වදාරා තිබෙනවා, ‘පළමු කොට තමා ම යහපතෙහි පිහිටුවා අන් අයට අනුශාසනා කරන්න කියලා. එයින් පණ්ඩිතයා වෙහෙසට පත්වන්නේ නැහැ’ කියලා. පින්වතුනි, මේ අනුව තමයි අපේ පඬිවරු ප්‍රකාශ කළේ **‘ඔවා දෙනු පරහට තමා සම්මතයේ පිහිටා සිට’** කියලා.

මේ ලෝකයේ බොහෝ සත්ත්වයෝ රාගය නමැති මර උගුලට අසුවී අනන්ත දුක් විඳිනවා. ඒ අතර ටික දෙනෙක් යම් අවබෝධයක් ලබා රාගය නමැති මර උගුලෙන් නිදහස් වෙන්නට මග සොයනවා. පස්කම් සැපතට ඇති ගිජුකම ටිකෙන් ටික දුරු කරනවා. ඒ අය පංච කාමයෙහි ආදීනව දකින්න පටන් ගන්නවා. හැකිතාක් කම් සැප විඳීමෙන් මිදී මේ මිනිස් ලොව බඹසර වෙසෙමින් උදාර මිනිස් ජීවිත ගත කරන්නට වෑයම් කරනවා. තවත් සමහර පිරිසක් රූපාවචර ධ්‍යාන වඩා රූපාවචර බ්‍රහ්ම ලෝකවල ඉපිද වාසය කරනවා. එහෙත් එය තාවකාලිකයි. ඒ බව තේරුම් ගත් තව පිරිසක් අරූපාවචර ධ්‍යාන වඩා අරූපාවචර බ්‍රහ්ම ලෝකවල උපදිනවා. බොහෝ කාලයක්

ඒවායේ සැපසේ, සුවසේ වාසය කරනවා. එහෙත් කාලයක් ගත වන විට ඒ අය තේරුම් ගන්නවා එයත් තාවකාලිකයි කියලා. ස්ථිර සැපයක් එහි නැහැ කියලා, හොඳින් තේරුම් ගන්නවා. මේ අතරින් ස්ථිර සැපත සොයා ගැනීමට සමත් වන්නේ සම්මා සම්බුදුරජාණන් වහන්සේලා පමණයි. පසේ බුදුරජාණන් වහන්සේලාත් සිය නුවණින් පරම සැපත අවබෝධ කර ගන්නවා. නමුත් අපට වැදගත් වන්නේ සම්මා සම්බුදුරජාණන් වහන්සේලාගේ අවබෝධ යයි. මොකද, අපේ විමුක්තිය රඳා පවතින්නේ සම්මා සම්බුදුරජාණන් වහන්සේලාගේ උපකාරය මතයි. පිරිසිදු ශ්‍රී සද්ධර්මය පහළ වීම, ආර්ය මහා සංඝරත්නය පහළවීම, පිරිසිදු බ්‍රහ්මචරියාව ලොවට හඳුන්වා දී ම සිදුවන්නේ සම්මා සම්බුදුරජාණන් වහන්සේලාගේ පහළවීම නිසයි. එනිසා රාගය ක්ෂය කළා වූ, ද්වේෂය ක්ෂය කළා වූ, මෝහය ක්ෂය කළා වූ පරම සුන්දර නිවන් සැපත අවබෝධ කරගන්නට මේ සුදුසුම කාල යයි. අප්‍රමාදී ව අපේ පින්වත් සැම දෙනා ම නිවන් සුව අවබෝධ කරනු පිණිස කටයුතු කරනු ඇතැයි අපි විශ්වාස කරනවා. හොඳයි අපි ඒ ගාථා පාඨය පිළිබඳව යම් අවබෝධයක් ඇති කරගත්තා. ඒ අනුව තම තම ජීවිත ආලෝකමත් කර ගන්නට උත්සහ ගනිමු. දැන් බලමු, ඊළඟ ගාථා රත්නයේ අදහස මොකක් ද කියලා.

## පස්වන ගාථාව

හැමෝ ම හඬ නගා ගාථාව සජ්ඣායනය කරන්න.

**යම්බුද්ධසෙට්ඨො පරිවණ්ණයී සුචිං, සමාධිමානන්තරිකඤ්ඤමාහු**

**සමාධිනා තෙන සමො න විජ්ජති, ඉදම්පි ධම්මෙ රතනං පණීතං**

**එතෙන සච්චෙන සුවත්ථි හොතු.**

**<u>යම්බුද්ධසෙට්ඨො</u>** (යං+බුද්ධ+සෙට්ඨො), ශ්‍රේෂ්ඨ වූ බුදුරජාණන් වහන්සේ, **<u>යං</u>** යම් ආර්ය සමාධියක්, **<u>සුචිං</u>** පිරිසුදු යැයි, **<u>පරිවණ්ණයී</u>** වර්ණනා කළ සේක් ද, (එය) **<u>සමාධිමානන්තරිකඤ්ඤමාහු</u>** (ආනන්තරිකං+සමාධිං+ආහු) ආනන්තරික සමාධිය යැයි දේශනා කළ සේක. **<u>සමාධිනා තෙන</u>** (තෙන සමාධිනා) ඒ සමාධිය හා, **<u>සමො</u>** සම වූ **<u>සමාධියක් න විජ්ජති</u>** විද්‍යමාන නොවේ, පෙනෙන්නට නැත. **<u>ධම්මෙ</u>** ධර්මයෙහි, **<u>රතනං</u>**

රත්නය (මෙම රත්න භාවය), **<u>පණීතං</u>** ප්‍රණීතය, උතුම් ය. **<u>ඒතේන සච්චේන</u>** මේ සත්‍යයේ බලයෙන්, **<u>සුවත්ථි හොතු</u>** සෙත් වේ වා!

> ශ්‍රේෂ්ඨ වූ බුදුරජාණන් වහන්සේ යම් ආර්ය සමාධියක් වර්ණනා කළ සේක් ද, එය ආනන්තරික සමාධිය යැයි දේශනා කළ සේක. ඒ සමාධිය හා සමාන වූ සමාධියක් වෙන යම් සසුනක දක්නට ලැබෙන්නේ නැහැ. ධර්මයෙහි මෙම රත්න භාවය උතුම් ය. මේ සත්‍යයේ බලයෙන් සෙත් වේ වා!

පින්වත්නි, මේ ලෝකයේ දෙපා ඇති අය අතර සම්මා සම්බුදුරජාණන් වහන්සේ ශ්‍රේෂ්ඨ වෙනවා. ඒ වගේ ම අන් අයගේ කිසි ම උදව්වක්, උපකාරයක් නැති ව චතුරාර්ය සත්‍ය ධර්මය අවබෝධ කළ නිසාත් ශ්‍රේෂ්ඨ වෙනවා. මෙසේ ශ්‍රේෂ්ඨත්වයට පැමිණි තථාගතයන් වහන්සේ රාගාදී කෙලෙස් මල රහිත අතිශයින් ම පිරිසිදු වූ ආනන්තරික සමාධියක් දේශනා කළ වදාළා. මේ ආනන්තරික සමාධිය මාර්ගඵල අවබෝධය ලැබූ උත්තමයන් වහන්සේලාට පමණක් ලැබෙන සමාධියක්. එය රූපාවචර, අරූපාවචර යන ලෞකික සමාධි වගේ වෙනස් වන්නේ නැහැ. කිසි දිනෙක පිරිහෙන්නේත් නැහැ. සියලු කෙලෙස් මල සම්පූර්ණයෙන් ම විනාශ කළ සිතක මාර්ගඵලාවබෝධයත් සමඟ උපදින මේ සමාධිය ඉතා ම ශ්‍රේෂ්ඨයි. ඉතා ම උසස් වෙනවා. එය තවදුරටත් පැහැදිලි කර ගැනීමට මේ උපමාව වැදගත් වෙනවා. දැන් හිතන්න රබර් බෝලයක් අරගෙන දිය යට සඟවා තබනවා කියලා. යම් වෙලාවකදි එය අත හැරුණ හොත් වහා ම මතු පිටට පැමිණෙනවා. ඒ වගේ ම තමයි ලෞකික සියලු සමාධිවල ස්වභාව ය. සියලු ලෞකික සමාධි, කෙලෙස් යටපත් කිරීමෙන් පමණක් ම ලැබෙන බැවින් ඒවා යළි පිරිහීමේ ප්‍රවණතාවය පවතිනවා. ලෞකික සමාධි ලබන්නේ ක්ලේශයන්ගේ අනුශය අවස්ථාව විනාශ කරන්නේ නැති වයි. එනිසා එම සමාධි ඉතා ම ඉක්මනින් පිරිහී යනවා. එහෙත් මේ ආනන්තරික සමාධිය ලබන ආර්ය උත්තමයෝ ක්ලේශයන්ගේ අනුශය අවස්ථාවත් සම්පූර්ණයෙන් ම විනාශ කර දමනවා. යළි කෙලෙස් හට ගැනීමේ කිසිදු ප්‍රවණතාවයක් නැහැ. මෙසේ කෙලෙස් නැසීමෙන්, මඟඵල අවබෝධයෙන් ලබන සමාධිය ශ්‍රේෂ්ඨ වෙනවා. එම සමාධිය කිසිවිටෙක කුමන හේතුවක් නිසාවත් පිරිහෙන්නේ නැහැ. අපේ පින්වතුන් යම් සමාධික් දියුණු කරනවා නම්, මේ නොපිරිහෙන ආනන්තරික සමාධිය ම දියුණු කරන්නට අධිෂ්ඨාන කර ගත්තොත් හරි ම වටිනාවා. අපි ආශිර්වාද කරනවා මේ

පින්වත් හැම දෙනාටමත් ආනන්තරික සමාධිය ම ලැබේ වා! කියලා. මෙයත් ධර්මයේ විශේෂ ගුණයක් හැටියට අපේ බුදුරජාණන් වහන්සේ පෙන්වා වදාළා. මේ සත්‍යය බලයෙන් සියලු සත්වයෝ සුවපත් වෙත් වා! කියලා අවසානයේ ආශිර්වාද කළ වදාළා.

දැන් අපට හමුවන්නේ සඟ ගුණ පිළිබඳව විස්තර වන ගාථා රත්න පෙලක්. අපි ඒ ගාථා රත්න එකින් එක ගෙන අර්ථ විමසා බලමු.

## සයවන ගාථාව

ප්‍රථමයෙන් මේ ගාථාව හඬ නගා සජ්ඣායනය කරමු.

**යෙ පුග්ගලා අට්ඨ සතං පසත්ථා, චත්තාරි එතානි යුගානි හොන්ති**

**තෙ දක්ඛිණෙය්‍යා සුගතස්ස සාවකා, එතෙසු දින්නානි මහප්ඵලානි**

**ඉදම්පි සඞ්ඝෙ රතනං පණීතං, එතෙන සච්චෙන සුවත්ථි හොතු.**

**යේ** යම්, **පුග්ගලා අට්ඨ** (අට්ඨ පුග්ගලා) අට වැදෑරුම් පුද්ගල කෙනෙක්, **සතං** බුද්ධාදී ආර්ය උතුමන් වහන්සේලා විසින්, **පසත්ථා** ප්‍රශංසා කරන ලද ද, **චත්තාරි එතානි යුගානි** (එතානි යුගානි චත්තාරි) මේ උතුමන් වහන්සේලා යුගල වශයෙන් සතරක් වෙනවා, **තෙ දක්ඛිණෙය්‍යා** කර්මඵල විශ්වාස කර පූජා කරන දානයට සුදුසු ම උතුමන් වහන්සේලා, **සුගතස්ස සාවකා** සුගතයන් වහන්සේගේ ශ්‍රාවකයෝ වෙනවා. **එතෙසු** මේ උතුමන් වහන්සේලාට, **දින්නානි** පූජා කරන දෙය, **මහප්ඵලානි** මහත් වූ ආනිසංස ගෙන දෙනවා, **ඉදම්පි** (ඉදං+අපි) මේ උතුම් ගුණය ද, **සඞ්ඝෙ** සංඝරත්නයෙහි **රතනං පණීතං** (පණීතං+රතනං) පවත්නා වූ ප්‍රණීත වූ රත්න භාවයකි. **එතෙන සච්චෙන** මේ සත්‍යය බලයෙන් **සුවත්ථි හොතු** සුවපත් වේ වා!

> අට වැදෑරුම් පුද්ගල කෙනෙක් බුද්ධාදී ආර්ය උතුමන් වහන්සේලා විසින් ප්‍රශංසා කරන ලද ද, මේ උතුමන් වහන්සේලා යුගල වශයෙන් සතරක් වෙනවා. යම් කෙනෙක් කර්මඵල විශ්වාස කර පූජා කරන දානයට උසස් ආනිසංස ගෙන දීමට සුදුසු ම උතුමන් වහන්සේලා සුගතයන් වහන්සේගේ ශ්‍රාවකයන් වහන්සේලා වෙනවා. මේ උතුමන්

> වහන්සේලාට පූජා කරන දෙය මහත් වූ ආනිසංස ගෙන දෙනවා. මේ උතුම් ගුණය ද සංඝරත්නයෙහි පවත්නා වූ ප්‍රණීත වූ රත්න භාවයකි. මේ සත්‍යය බලයෙන් සුවපත් වේ වා!

පින්වත්නි, ගාථාවේ වචන වල තේරුම මෙහෙමයි. තව ටිකක් අපි විස්තර කර බලමු. බුදුරජාණන් වහන්සේලා ප්‍රශංසා කරන ආර්ය පුද්ගලයන් අට දෙනෙක් සිටිනවා. ඒ තමයි සෝවාන් මගට බැසගත් හා සෝවාන් ඵලය අවබෝධ කරගත් පුද්ගලයන් දෙදෙනා, සකදාගාමී මගට බැසගත් හා සකදාගාමී ඵලය අවබෝධ කරගත් පුද්ගලයන් දෙදෙනා, අනාගාමී මගට බැසගත් හා අනාගාමී ඵලය අවබෝධ කරගත් ආර්ය පුද්ගලයන් දෙදෙනා සහ රහත් මඟට බැසගත් හා රහත්ඵලය අවබෝධ කරගත් ආර්ය පුද්ගලයන් දෙදෙනා වශයෙන් පෙන්වා දෙනවා. මේ ආර්ය පුද්ගලයන් අට දෙනා සියලු බුදුරජාණන් වහන්සේලාගේ ප්‍රශංසාවට, ගෞරවයට ලක්වෙනවා. මේ ආර්ය ශ්‍රාවකයෝ සෝවාන් සකෘදාගාමී අනාගාමී අරිහත් වශයෙන් යුගල හතරයි. ඉතින් යම් කෙනෙක් මේ උතුමන් වහන්සේලාට කර්මයත්, කර්මඵලයත් අදහාගෙන, උසස් ආනිසංස බලාපොරොත්තුවෙන් දන් දීමට යොමු වෙනවා නම්, ඒ දානයට උසස් ආනිසංස ලබාදීමට සුදුසුකම් පවතිනවා. මේ ලෝකයේ යම් කෙනෙක් උසස් දානානිසංස අපේක්ෂාවෙන් දන් දීමට යම් කෙනෙකු සොයනවා නම් මෙන්න මේ ආර්ය උතුමන් වහන්සේලා උදෙසා දන් පූජා කිරීම සුදුසු වෙනවා. මේ ලෝකයෙහි සීල, සමාධි, ප්‍රඥා ගුණධර්මයන් උසස්ම ආකාරයෙන් අවංකව ප්‍රගුණ කරන උතුමන් වහන්සේලා වැඩ සිටිනවා කියා සඳහන් කරනවා නම්, ඒ සඳහන් කරන්නෙ මේ ආර්ය උතුමන් වහන්සේලා පිළිබඳවයි. ඒකාන්තයෙන්ම මේ ආර්ය උතුමන් වහන්සේලා **පින් කෙතක්** වෙනවා. මේ උතුමන් වහන්සේලා කෙරෙහි පැහැදීමෙන් සැදැහැ සිතින් බත් හැන්දක් පූජා කළත්, පැන් පොදක් පූජා කළත්, මල් මිටක් පූජා කළත් ඒ පූජාවට අදාළ ව උසස් ම ආනිසංස ලබන්නට හැකියාව තිබෙනවා. ශාසන ඉතිහාසය කියවන ඕනෑම කෙනෙකුට එය තවත් හොඳට පැහැදිලි වෙනවා. දක්ඛිණවිභංග සූත්‍රය, වේලාම සූත්‍රය ආදී දානය පිළිබඳව සඳහන් වන සූත්‍ර ධර්ම මනාකොට අධ්‍යනය කිරීමෙන් මේ කරුණ වඩාත් හොඳින් පැහැදිලි වෙනවා. මේ ආර්ය සංඝරත්නයේ පවත්නා වූ සුවිශේෂ ගුණ ධර්මයක්, එය සත්‍යයක්. ඒ සත්‍යයේ බලයෙන් සියලු සත්ත්වයෝ සුවපත් වෙත් වා!

කියලා සත්‍ය ක්‍රියා කරනවා. මේ ආකාරයටයි මේ ගාථා රත්නයේ අදහස තේරුම් ගන්න තියෙන්නේ.

## සත්වන ගාථාව

දැන් අපි ආර්ය සංඝරත්නය පිළිබඳව කියැවෙන දෙවෙනි ගාථාව වෙත අවධානය යොමු කරමු. හැමෝ ම හඬ නගා ගාථාව සජ්ඣායනය කරන්න.

**යෙ සුප්පයුත්තා මනසා දළ්හෙන, නික්කාමිනො ගොතමසාසනම්හි**
**තෙ පත්තිපත්තා අමතං විගය්හ, ලද්ධා මුධා නිබ්බුතිං භුඤ්ජමානා**
**ඉදම්පි සඞ්ඝෙ රතනං පණීතං, එතෙන සච්චෙන සුවත්ථි හොතු.**

බොහොම හොඳයි. අපි දැන් ගාථා රත්නයේ වචනාර්ථයත්, තේරුමත් දැන ගනිමු.

**යෙ** යම් කෙනෙක්, **සුප්පයුත්තා** මැනවින් යෙදෙන්නෙ ද, **මනසා දළ්හෙන** (දළ්හෙන මනසා) දැඩි ස්ථාවර සිතින්, **නික්කාමිනො** ජීවිත පරිත්‍යාගයෙන් වීර්ය, යෝනිසෝමනසිකාරය ආදී බල උපයෝගි කරගෙන සියලු කෙලෙසුන් කෙරෙන් මිදුනා ද, **ගොතමසාසනම්හි** ගෞතම සම්බුද්ධ ශාසනයේ, **තෙ** ඔව්හු (ඒ උතුමෝ), **පත්තිපත්තා** අවබෝධ කළයුතු මගඵල වලට, **අමතං** මරණයක් නැත්තාවූ නිවනට **විගය්හ** පැමිණ, **ලද්ධා** ලැබුණා වූ, **මුධා** කිසිදු වියදමක් නොකොට, **නිබ්බුතිං** නිවන් සුව **භුඤ්ජමානා** භුක්තිවිඳින්නාහු වේ, **ඉදම්පි සඞ්ඝෙ රතනං පණීතං** මෙය ද සංඝයරත්නයෙහි පවත්නා ප්‍රණීත වූ රත්න භාවයයි, **එතෙන සච්චෙන සුවත්ථි හොතු** ඒ සත්‍ය බලයෙන් සෙත් වේවා!

යම් කෙනෙක් ගෞතම සම්බුද්ධ ශාසනයේ දැඩි ස්ථාවර සිතින් මැනවින් යෙදෙන්නෙ ද, ජීවිත පරිත්‍යාගයෙන් වීර්ය, යෝනිසෝමනසිකාරය ආදී බල ධර්ම උපයෝගි කරගෙන සියලු කෙලෙසුන් කෙරෙන් මිදෙන්නේ ද, කිසිදු වියදමක් නොකොට ලබෙන්නා වූ, මරණයක් නැත්තා වූ, නිවනට පැමිණ නිවන් සුව භුක්තිවිඳින්නා වූ ඒ උතුමෝ අවබෝධ කළයුතු මගඵල වලට පැමිණි

> ආර්ය උතුමන් වෙනවා. මෙය ද සංඝයරත්නයෙහි පවත්නා ප්‍රණීත වූ රත්න භාවයයි. ඒ සත්‍ය බලයෙන් සෙත් වේ වා!

සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ ශ්‍රාවක මහා සංඝරත්නය තම ජීවිත පවත් වන්නේ ඉතා ම පිරිසිදු ආකාරයටයි. සොරකම් කර, වංචා දූෂණ කර, කපටිකම් කර, නැත්නම් වෙනත් නානාවිධ වැරදි වැඩ කර, උපයා සපයා ගත් චීවර පිණ්ඩපාත සේනාසන ආදියෙන් නෙවෙයි, ඒ උතුමන් වහන්සේලා ජීවිත පවත් වන්නේ. සැදැහැවත් දායක දායකාවන්ගෙ කැමැත්තෙන් ලැබෙන සිව්පස දානය ධර්ම විනයානුකූල ව පිළිගෙන, ආජීව පාරිශුද්ධ සීලයෙහි මනාකොට පිහිටා, නිවන් භුක්ති විඳිමින් වැඩ වාසය කරනවා. ඒ ආර්ය උතුමන් වහන්සේලාගේ කායික ක්‍රියා අතිශයින් පිරිසුදුයි. වාචසික ක්‍රියාත් අතිශයින් පිරිසුදුයි. මානසික ක්‍රියා අතිශයින් පිරිසුදුයි. එම සියලුම ක්‍රියා කිසිම ආකාරයෙන් කෙලෙස් සමඟ සම්මිශ්‍ර වීමක් නැහැ. ඒ උතුමන් වහන්සේලා ගෞතම බුද්ධ ශාසනයෙහි ස්ථිර ලෙස, කිසි දා නොසැලෙන මනසින් වැඩ වාසය කරනවා. එතුමන් වහන්සේලාගේ චිත්ත සන්තාන චණ්ඩ මාරුතයකින් පවා නොසෙල්වෙන මහා ගල් පර්වත සේ අකම්පිතයි. කිසි විටෙක චලනයක් සිදු වන්නේ නැහැ. කිසි කෙනෙකුට කිසිම ආකාරයකින් එම සිත් වෙනස් කරන්නට හෝ සොලවන්නට හෝ වෙනත් අතකට යොමු කරන්නට හෝ කිසිදු හැකියාවක් නැහැ. ලාභ සත්කාර, කීර්ති ප්‍රශංසා ආදී කිසිවක් නිසා චලනය වන්නේ නැහැ, වෙනස් වන්නේ නැහැ. අටලෝ දහමින් කම්පා වන්නෙත් නැහැ. එතරම් ම එම සිත් ප්‍රබල වෙනවා. අව ම වශයෙන් ඒ උතුමන් වහන්සේලාට තමන්ගේ ජීවිත කෙරෙහි වත් ආශාවන්, අපේක්ෂාවන් ඇත්තේ නැහැ. වීර්ය, ප්‍රඥා ආදී ගුණ මුල් කරගෙන සියලු කෙලෙසුන් යළි කිසි කලෙක නූපදින ලෙස ප්‍රහාණය කර තියෙනවා. රාග, දෝෂ, මෝහ ආදී අකුසල බලශක්තීන් මුළුමනින් ම ප්‍රහාණය කොට, කිසිදු වියදමක් නොකොට අවබෝධ කරගත් ඵල සමාපත්ති සුව භුක්ති විඳිමින් සුවසේ වැඩ වාසය කරනවා. මෙය ආර්ය මහා සංඝරත්නයෙහි පවත්නා උතුම් වූ පිරිසිදු ගුණ ශක්තියක්. ඒ ගුණ ශක්තියේ බලයෙන් සියලු සත්වයෝ සුවපත් වෙත් වා! යනුවෙන් අපේ සම්මා සම්බුදුරජාණන් වහන්සේ සත්‍ය ක්‍රියා කළ වදාළා. මේ ගාථා රත්නය මනාකොට තේරුම් අරගෙන, පින්වත් සෑම දෙනාමත් ඒ ගුණ ශක්ති හැකි

පමණින් තම සන්තාන තුළ දියුණු කරගන්නට හැකි සෑම උත්සාහයක් ම ගත යුතුයි. එසේ නොවන්නේ නම්, මේ සංසාර ගමනෙ හැමදා ම දුක් විඳින්න ම වෙනවා.

## අටවන ගාථාව

දැන් ඉතින් අපි බලමු, ඊළඟ ගාථා රත්නය තේරුම් ගන්නට. පළමුවෙන් ම මේ ගාථා රත්නය හඬ නගා සජ්ඣායනය කරමු.

**යථින්දඛීලො පඨවිංසිතො සියා, චතුබ්භි වාතේභි අසම්පකම්පියො**

**තථූපමං සප්පුරිසං වදාමි, යො අරියසච්චානි අවෙච්ච පස්සති**

**ඉදම්පි සඞ්ඝෙ රතනං පණීතං, එතෙන සච්චෙන සුවත්ථි හොතු.**

බොහොම හොඳයි අපි දැන් ගාථාවේ අදහස මොකක් ද කියල විමසා බලමු.

**යථින්දඛීලො** යම්සේ ඉන්ද්‍රඛීලය, **පඨවිංසිතො** පොළවේ සිටුවා, **සියා** තිබේ ද, **චතුබ්භි වාතේභි** සතර දෙසින් හමන සුලඟින්, **අසම්පකම්පියො** සෙලවිය හැකි නොවේ ද, **තථූපමං සප්පුරිසං** ඒ සත්පුරුෂයා එබඳු උපමා ඇති බව, **වදාමි** දේශනා කරමි, **යො** යම් කෙනෙක්, **අරියසච්චානි** ආර්ය සත්‍යය, **අවෙච්ච පස්සති** මනා සිහි නුවණින් අවබෝධ කරනවාද, **ඉදම්පි සඞ්ඝෙ රතනං පණීතං** මෙය ද සංඝයරත්නයෙහි පවත්නා ප්‍රණීත වූ රත්න භාවයයි, **එතෙන සච්චෙන සුවත්ථි හොතු** ඒ සත්‍ය බලයෙන් සෙත් වේ වා!

> යම් කෙනෙක් චතුරාර්ය සත්‍ය ධර්මය මනා සිහි නුවණින් සුපිරිසිඳු ව අවබෝධ කරයි නම්, එම සත්පුරුෂ තැනැත්තා සිව් දිගින් හමනා සැඩ සුළඟට වුව ද නොසෙල්වෙන ලෙස ශක්තිමත් ව පොළොවෙහි සිටුවන ලද ඉන්ද්‍රඛීලය බඳු උපමා ඇති බව, අපේ සම්මා සම්බුදු රජාණන් වහන්සේ පෙන්වා වදාළා.

රතන සූත්‍රයෙහි සඳහන් වෙන ඉතාම වැදගත් ගාථාවක් ලෙස, මෙම ගාථාව පෙන්වා දෙන්නට පුළුවන්. මේ ගාථාවෙන් පෙන්වා දෙන්නේ ආර්ය උතුමන් වහන්සේලාගේ සිත්වල දියුණු ස්වභාවයයි. තෙරුවන් සරණ යන සෑම දෙනාම, මේ

ගාථාවේ සඳහන් ආකාරයට තම තමන්ගේ සිත් දියුණු කළ යුතු බව කරුණාවෙන් සිහිපත් කරනවා.

මේ ගාථාවේ සඳහන් වෙනවා ඉන්ද්‍රඛීලයක් ගැන. මොකක්ද මේ ඉන්ද්‍රඛීලය කියන්නේ? ඔව්, අපේ පින්වතුන් බොහෝ දෙනෙක් දන්නවා. මෙය එකල නගර දොරටුවට සිටුවන ශක්තිමත්, බලවත් කුළුණක්. ශක්තිමත් අරටු ලී වලින් හෝ යකඩවලින් තමයි මේක හදන්නේ. මෙකල කොන්ක්‍රීට් භාවිත කර හදනවා. මෙය ඉතා ගැඹුරට සිටවනවා. එනිසා කිසිසේත් සෙලවෙන්නේ නැහැ. සොලවන්නත් බැහැ. ගාථාවේ සඳහන් වන විදිහට සතර දිසාවෙන් හමන සැඩ සුළඟට මේ කුළුණ සෙලවෙන්නේ නැහැ. අන්න ඒ වගේ තමයි මනාකොට සිත දියුණු කළ ආර්ය ශ්‍රාවකයා. මනා අවබෝධයෙන් තෙරුවන් සරණ ගිය මග ඵල අවබෝධය ලැබූ ආර්ය ශ්‍රාවකයා කිසි කලෙක ලාභ සත්කාර, කීර්ති ප්‍රශංසා, නම්බු නාම ආදී කිසිවක් නිසා වෙනස් වන්නේ නැහැ. ඒ විතරක් නෙවෙයි, සමාජයෙන් එල්ල වන අනේක විධ තාඩන පීඩන, වධ බන්ධන, අභූත චෝදනා ආදී කිසිවක් නිසාත්, වෙනස් වන්නේ නැහැ. සැලෙන්නේ නැහැ. ජීවිතය විනාශ කලත් එවැනි සත්පුරුෂ උතුමන් සොලවන්නට පුළුවන්කමක් නැහැ. ශාන්තිවාදී තාපස තුමා පිළිබඳව අධ්‍යානය කර බලන විට එය වඩා හොඳින් පැහැදිලි වෙනවා. ජීවිතය නැති ව ගියත් පුහුණු කළ සිත වෙනස් වන්නේ නැහැ. ජීවිතය විනාශ කරන සතුරාට පවා නොපැකිලව, නොසැලී මෙත් සිත් වඩන්නට තරම් සිත දියුණු කිරීම මෙයින් පෙන්වා දෙනවා.

**යො මෙ හත්ථෙ ච පාදෙ ච, කණ්ණනාසඤ්ච ඡෙදයි**

**චිරං ජීවතු සො රාජා, න හි කුජ්ඣන්ති මාදිසා.**

යම් රජ කෙනෙක් මගේ අත් පා කන් නාසය කපා දැමුවේ ද, එම රජතුමා බොහෝ කල් ජීවත් වේ වා! මා වැනි අය කිසිවිටෙක කිපෙන්නේ නැහැ.

මේ නොසැලෙන මානසික ස්වභාව යයි. සතුරාට වුව ද අවංකව මෙත් සිත් පැතිර වීමේ ශක්තිය ලැබෙනවා. ජීවිතයට එල්ලවන ඕනෑම අභියෝගයක දී නොසැලී ම ඉදිරියට ම පිය නගන්නට ඔහුට හැකියා ව, ශක්තිය, දිරිය ඉතා හොඳින් පිහිටා

තිබෙනවා. අපේ සිද්ධාර්ථ බෝසතාණන් වහන්සේ වරක් දුෂ්කර ක්‍රියා කර අන්තිම අදීරයට පැමිණ වෙහෙසට පත්ව ඇතැයි සිතූ මාරයා බෝසතාණන් වහන්සේට යෝජනා කරනවා, ‘දැන්වත් ගෙදර යන්න, රජ මැදුරට ගොස් ඉතා හොඳින් කම් සැප විඳිමින් පින් කරගන්න කියලා.’ එහෙත් බෝසතාණන් වහන්සේ එක පියවරකින් වත් ආපසු හැරුණේ නැහැ. මට අනුමාත්‍ර පිනකින් වත් වැඩක් නැහැ. මට **සද්ධා, වීර්යය, සති, සමාධි, පඤ්ඤා** යන බලශක්තියෙන් ඉතා හොඳින් තියෙනවා. මගේ ගමන කිසිසේත් වෙනස් වන්නේ නැහැ කියලා, නොසැලී මාරයාට ප්‍රකාශ කළා. සිද්ධාර්ථ බෝසතාණන් වහන්සේ මගඵල නොලබා තිබුණත්, අචල ශ්‍රද්ධාවෙන් හා දැඩි අධිෂ්ටානයෙන් සම්මා සම්බෝධිය පිණිස තමන් තැබූ පියවර, කුමන හේතුවක් නිසාවත් වෙනස් කළේ නැහැ. මේ විදිහට මාරයාගේ කියමන් අහල තමන්ගේ ගමන් මග වෙනස් නොකළ බොහෝ චරිත ථේරවාද ශාසන ඉතිහාසයේ සඳහන් වෙනවා. ඇතැම් අය මගඵල ලැබූ නිසා වෙනස් වූයේ නැහැ. ඇතැම් අය මගඵල නොලැබුවත් කිසිසේත් වෙනස් වුණේ නැහැ. ඉතින් අපේ පින්වත් සැම දෙනාමත් මඟඵල ලබා නැහැ කියලා, ධර්මාවබෝධය පිණිස තැබූ පියවර කිසිසේත් ආපස්සට හැරවිය යුතු නැහැ. තම උදාර අභිමතාර්ථය ඉටුවන තුරු සිය දහස් වර උනන්දු විය යුතු යි. කුමන දිශාවකින්, කුමන ආකාරයකින් චණ්ඩ මාරුතය දරුණු ලෙස හමා ආවත්, මහ ගල්කුලක් කිසිසේත් සෙලවෙන්නේ නැහැ. අන්න ඒ වගේ ම නොසෙල් වෙන ශක්තියක් බෞද්ධ අපට තිබිය යුතු යි. බෞද්ධකම කියන්නේ ඒකයි. මේ සංසාර ගමනේදී අපට මුහුණ දෙන්නට සිදුවන කරදර බාධක, නින්දා අපහාස උපහාස, ඇනුම් බැනුම් ගැරහුම් කෙළවරක් නැහැ. සමහර අවස්ථාවල අභූත චෝදනාවලට, ඒ කියන්නේ නොකල වැරදි වලට, චෝදනාවලට මුහුණ දෙන්න සිදු වෙනවා. අපේ සම්මා සම්බුදුරජාණන් වහන්සේ අභූත චෝදනාවලට මුහුණ දී වදාළා. සැරියුත් මහරහතන් වහන්සේ ඇතුළු තවත් බොහෝ රහතන් වහන්සේලා එවැනි අභූත චෝදනාවලට මුහුණ දී වදාළා. ඒ උත්තමයන් වහන්සේලා කිසිම දවසක ඒවාට සැලුනෙ නැහැ, වෙනස් වූයේත් නැහැ. ඉතින් අපිත් මේවාට මුහුණ දෙන්න පුරුදු විය යුතුයි. ඒවාට නොසැලී මුහුණ දෙන්න හැකියාව ලැබෙන දවසට තමන් ඉන්ද්‍රඛීලයක් බඳු යැයි අපේ සම්මා සම්බුදුරජාණන් වහන්සේගෙන් නියත වශයෙන්ම ප්‍රශංසාව ලබනවා, ගෞරවය

ලබනවා. ඉතිං අපේ පින්වතුන් කැමති නැද්ද, මේ ගෞතම බුද්ධ ශාසනයේදී එවැනි උතුම් ගෞරවයක් ලබන්න.

ජරා, ව්‍යාධි, මරණ, ශෝක, පරිදේව, දුක්ඛ, දෝමනස්ස මේවා හමු නොවන ජීවිතයක් අපට හමුවන්නේ නැහැ. මේවාට මුහුණ දීමේ ශක්තිය අනිවාර්යෙන් ම තිබිය යුතුයි. එසේ නොවුන හොත් අපි සදාකාලික අනාතයන් වෙනවා. අනිත්‍ය, දුක්ඛ, අනාත්ම යන ත්‍රිලක්ෂණය අප කාටත් පොදුයි. අපි හැම දෙනාට ම මේ ධර්මතාවයන් තේරුම් ගන්න වෙනවා. කැමැත්තෙන් හෝ අකමැත්තෙන් ලෝක ස්වභාවයට මුහුණ දෙන්න වෙනවා. එනිසා අපේ බුදුරජාණන් වහන්සේ ස්ත්‍රී, පුරුෂ, ගිහි, පැවිදි අපි හැම දෙනාට ම නිතර නිතර මෙනෙහි කරන්න දේශනා කොට වදාළා කරුණු කිහිපයක් තියෙනවා. මොනවද ඒ කරුණු? නිතර නිතර මෙනෙහි කරන්න අවශ්‍ය වෙනවා, අපි ජරාවට පත්වෙනවා කියලා. ලෙඩ රෝග වලට ගොදුරු වෙනවා කියලා. මරණයට පත්වෙනවා කියලා. සජීවී අජීවී සියලු ප්‍රිය මනාප වස්තූන් වෙනස් වෙනවා. ඒ වගේම ඒවායෙන් ඈත් වෙලා, වෙන් වෙලා යන්න සිදුවෙනවා කියලා. අප විසින් සිදු කරන හොඳ හෝ නරක කර්මවලට නිසි විපාක ලැබෙනවා කියලා. ඇයි අපට මේවා මෙනෙහි කරන්න කියල දේශනා කළ වදාළේ? මේ ගාථාවේ සඳහන් වන ඉන්ද්‍රඛීලයක් වගේ අපේ සිත් ශක්තිමත් කරන්න. ඒ වගේම මහා ගල් කුලක් සේ ශක්තිමත් කරන්න. වෙන කිසිම දේකට නෙවෙයි. මේවා මෙනෙහි කරන්න, මෙනෙහි කරන්න අපේ සිත් මොහොතින් මොහොත ශක්තිමත් වෙනවා, බලවත් වෙනවා. ඕනෑම අභියෝගයකට මුහුණ දීමේ හැකියාව උපරිමයෙන් ම ලැබෙනවා.

ඊළඟට චතුරාර්ය සත්‍ය ධර්මය සිහිනුවණින්, ගැඹුරු නුවණින්, මගඵල නුවණින් මනාකොට අවබෝධ කරගත් පසු ව අපි කිසි දවක, කිසි මොහොතක මොනම හේතුවක් නිසාවත් වෙනස් වන්නේ නැහැ. කිසි කෙනෙකුට වෙනස් කරන්නටත් බැහැ.

අපේ පින්වතුන්ගේ පැහැදිලි අවබෝධය පිණිස, අපි තව පුංචි උපමාවක් පෙන්වා දෙන්නම්. දැන් හිතන්න යම් කෙනෙක් මුහුදේ අතරමං ව සිටිනවා කියලා. මේ තැනැත්තා ගොඩබිමක් සොයා සමහර වෙලාවට උතුරට පිහිනනවා. තවත් විටෙක දකුණට පිහිනනවා. තවත් විටෙක නැගෙනහිර දිසාවට පිහිනනවා. ඒ වගේම බටහිර

දිසාවටත් පිහිනනවා. මේ විදිහට එහෙට මෙහෙට පීන පීනා අතරමං ව සිටින මේ තැනැත්තාට එක් අවස්ථාවකදී, එක දිශාවකින් ඈත ගොඩබිමක් දැකගන්න ලැබෙනවා. දැන් මේ තැනැත්තා නියත වශයෙන්ම පිහිනන්නේ ගොඩබිම දිසාවටයි. කවුරු කොහොම කිව්වත් ඔහු ගොඩබිම දෙසට පිහිනන එක නවත්වන්නේ නැහැ. තෙරුවන් සරණ ගිය, පිළිවෙත් ගරුක බෞද්ධ අපි හැම දෙනාම අන්න ඒ ආකාරයට අවල ශ්‍රද්ධාවෙන් කටයුතු කරන්නට වෙනවා. එහෙම කළොත් තමා, මේ ගාථාව නිවැරදි ව ඉගෙන ගත්තා වෙන්නෙ. මේ ගාථාව උදේ සවස සජ්ඣායනය කළා කියලා වැඩි ප්‍රයෝජනයක් නැහැ, එය නිවැරදි ව තේරුම් අරගෙන පුහුණු කරන්නේ නැත්නම්. එය අන්ධයා රත්තරන් ආකාරයක් මත වාඩි වෙලා සිඟමන් යදිනවා වගේ වැඩක්. හිඟන්නාට වාඩිවී සිටීමට රත්තරන් ආකරය වුවත් ආසනයක් විතරයි. ඔහු ඒ ගැන සතුටු වෙනවා. එහෙත් ඔහු රත්තරං ආකරයේ වටිනාකම දන්නේ නැහැ. ඒ වගේම මන්ද බුද්ධික මිනිස්සු හෝ ගිරව් කොපමණ බුදුගුණ ගැයුවත් ඒ අයට ඒ කිසිම දෙයක් තේරුම් ගන්න බැහැ. එනිසා මේ ගාථාවේ පමණක් නෙවෙයි, මේ මුළු සූත්‍රය ම හොඳට ඉගෙන ගෙන, ඒ කරුණු නිවැරදි ව තම තමන්ගේ ජීවිත වලට එකතු කරගෙන, ඒ අනුව ජීවිත පෝෂණය කරගන්න උත්සාහ කරන්නට අවශ්‍ය වෙනවා. උදේ සවස මන්ත්‍රයක් වගේ මේක සජ්ඣායනය කළා කියලා ලොකු ප්‍රයෝජනයක් වන්නේ නැහැ. ඒකෙන් මතුරලා පිරිත් වතුර ටිකක් බීවා කියලා, ඇඟේ පිරිත් වතුර තවර ගත්තා කියලා මහ ලොකු යහපතක් සිදුවෙන්නේ නැහැ. එහෙම නැත්නම් පිරිත් නූලක් අතේ හෝ කරේ බැඳගත්තා කියලා ධර්මාවබෝධය ලැබෙන්නේ නැහැ. එයට වඩා එහා ගිය මහා බලගතු ශක්තියක් අපට මේ තුළින් උපදවා ගන්නට පුළුවන් වෙනවා. අපේ සංසාර දුකම කෙළවර කරන්න පුළුවන්. ඒ සඳහා මේ ගාථාව පමණක් උගෙන මනාව නිසි බල දහම් පුගුණ කළත් ප්‍රමාණවත් කියලා අපි විශ්වාස කරනවා.

## නවවන ගාථාව

හොඳයි ඉතිං අපි ගාථාව ඉගෙන ගනිමු. හැමෝ ම එම ගාථාවත් හඬ නගා සජ්ඣායනය කරන්න.

> **යෙ අරියසච්චානි විභාවයන්ති, ගම්භීරපඤ්ඤෙන සුදෙසිතානි**
>
> **කිඤ්චාපි තෙ හොන්ති භුසප්පමත්තා, න තෙ භවං අට්ඨමං ආදියන්ති**
>
> **ඉදම්පි සඞ්ඝෙ රතනං පණීතං, එතෙන සච්චෙන සුවත්ථි හොතු.**

**යෙ** යම් කෙනෙක්, **අරියසච්චානි** ආර්ය සත්‍යය, **විභාවයන්ති** තම නුවණින් අවබෝධ කරත් ද, **ගම්භීරපඤ්ඤෙන** ගැඹුරු නුවණින්, **සුදෙසිතානි** මනාකොට දේශනා කළ වදාළා වූ, **කිඤ්චාපි** කිසියම් (හේතුවක් නිසා), **තෙ** ඔවුහු, **හොන්ති භුසප්පමත්තා** (භුසප්පමත්තා හොන්ති) අතිශය ප්‍රමාදී වෙත් ද, **න තෙ** ඔවුහු, **භවං අට්ඨමං** (අට්ඨමං භවං) අටවන භවයක්, **ආදියන්ති** (න ආදියන්ති) නොගනිති. **ඉදම්පි සඞ්ඝෙ රතනං පණීතං** මෙය ද සංඝයරත්නයෙහි පවත්නා ප්‍රණීත වූ රත්න භාවයයි, **එතෙන සච්චෙන සුවත්ථි හොතු** ඒ සත්‍ය බලයෙන් සෙත් වේ වා!

> යම් කෙනෙක් අප සම්මා සම්බුදුරජාණන් වහන්සේ ගැඹුරු නුවණින් මනාකොට දේශනා කළ වදාළ චතුරාර්ය සත්‍ය ධර්මය තම නුවණින් මැනවින් අවබෝධ කර සෝවාන් ඵල සමාපත්ති ලාභී ව, දිව්‍ය මිනිස් ලෝකාදියෙහි ඉපිද සෙසු මගඵල අවබෝධයට අතිශය ප්‍රමාද වුවත්, කිසි විටෙක ඒ ආර්ය උතුමන් වහන්සේලා අටවන භවයක් නම් ගන්නේ නැහැ.

පින්වත්නි, අපේ බුදුරජාණන් වහන්සේ සියලු ධර්මයන් දේශනා කොට වදාළේ ගැඹුරු ප්‍රඥාවකින්. ඒ ගැඹුරු ප්‍රඥාව දවසකින් දෙකකින්, අවුරුද්දක් දෙකකින් එහෙම නැත්නම් ආත්මයක් දෙකකින් දියුණු කළ එකක් නෙවෙයි. එය විසි අසංඛ්‍ය කල්ප ලක්ෂයක් තරම් අති දීර්ඝ කාලයක් ක්‍රමයෙන් දියුණු කළ, මහා ගැඹුරු ප්‍රඥාවක්. සර්වඥතා ඥානය, එහෙම නැත්නම් සියල්ල දත් නුවණ ලෙහෙසියෙන් පහසුවෙන් ලබන්න පුළුවන් එකක් නෙවෙයි. අපේ සම්මා සම්බුදුරජාණන් වහන්සේ ප්‍රඥාධික බුදුරජාණන් වහන්සේ කෙනෙක් හැටියට විසි අසංඛ්‍ය කල්ප ලක්ෂයක් සම්මා

සම්බෝධිය සඳහා සිත දියුණු කරමින්, ඒ මහා ගැඹුරු නුවණ පුහුණු කළ බව ථේරවාද ශාසන ඉතිහාසයේ සඳහන් වෙනවා. සියලු බ්‍රහ්මලෝක, දිව්‍යලෝක, මනුස්ස ලෝක, තිරිසන් ලෝක ප්‍රේත ලෝක අපාය ආදී මේ සියලු ලෝකවල අත්දැකීම් අත්විඳීම් මේ ගැඹුරු ප්‍රඥාවට ඇතුලත් වෙනවා. විශේෂයෙන් හේතුඵල දහම, චතුරාර්ය සත්‍යය ධර්මය ආදී සද්ධර්මය සම්මා සම්බුදුරජාණන් වහන්සේ කෙනෙකුට ම ආවේණික ධර්ම වෙනවා. එම ධර්මය මතු කළ හැක්කේ සම්මා සම්බුදුරජාණන් වහන්සේලාට ම පමණයි. එනිසා සම්මා සම්බුදුරජාණන් වහන්සේ යම් දෙයක් දේශනා කරන්නේ නම් ඒ සියල්ල ම ඉතා පිරිසිදු ව සිහිනුවණින් මනාකොට විමසා බලා, කිසිදු අඩු පාඩුවක් නොවන පරිදි දේශනා කළ වදාළා. මේ නිසා කිසි දවසක වරදින දහමක්, වෙනස් වන දහමක්, බොරු දහමක් දේශනා කර මිනිසුන් රවටන්නට, නොමග යවන්නට, මුලා කරන්න, පහදවා ගන්නට කිසිදු උත්සාහයක් ගන්නේ නැහැ. ඉතින් යම් කෙනෙක් අපේ සම්මා සම්බුදුරජාණන් වහන්සේ දේශනා කළ වදාළ ශ්‍රී සද්ධර්මය අවබෝධ කරගන්නේ නම්, එය එම තැනැත්තාගේ ම යහපත පිණිස පවතිනවා. සම්මා සම්බුදුරජාණන් වහන්සේ එයින් කිසිදු ලාභාපේක්ෂාවක් බලාපොරොත්තු වන්නේ නැහැ. යම් කෙනෙක් ස්ථාවර ව ධර්මය අවබෝධ කළා කියලා ප්‍රකාශ කරනවා නම් අනිවාර්යයෙන් ම ඔහු පළමු මාර්ග ඵලයට පැමිණ තිබිය යුතුයි. ඒ කියන්නේ සෝවාන් මඟ ඵල ලබා තිබිය යුතුයි.

මෙම ගාථාවෙන් පැහැදිලි කරන්නේ එවැනි සෝවාන් ඵල ලාභී ආර්ය උතුමන්ගේ පවත්නා තවත් එක් විශේෂ ගුණාංගයක් පිළිබඳව. මීට කලින් ගාථාවලත් වැදගත් ලක්ෂණ කිහිපයක් පෙන්වලා දුන්නා. මෙම ගාථාවෙන් පෙන්වා දෙන්නේ කිසියම් හේතුවක් නිසා සෝවාන් ඵල ලාභී උත්තමයා ඉතිරි මාර්ග ඵල අවබෝධය සඳහා වැඩි වෙහෙසක් නොගෙන, බ්‍රහ්ම, දිව්‍ය, මනුස්ස ලෝකවල උපදිමින් යම් ප්‍රමාදයක් සිදු කළ හොත්, එම ප්‍රමාදය උප්පත්ති භව හතකට පමණක් සීමා වෙනවා. කිසිවිටෙක අටවන භවයක් නම් ගන්නේ නැහැ. ඒ කියන්නේ අටවන වතාවටත් යලි උපතක් සිදු නොවන බව. උපරිම උප්පත්ති භව හතකින් එතුමාගේ සංසාර ගමන කෙළවර කරන බව ගාථාව පැහැදිලි කරනවා. එතනින් එහාට එතුමන් වහන්සේලාට මේ සංසාරයේ විඳින්නට තිබෙන සියලුම දුක් මුළුමනින් ම අවසන් වෙනවා. යලි මේ සංසාරයේ කිසි කලෙක, කුමනාකාරයේ වත් දුකක් විඳින්නට ලැබෙන්නේ නැහැ. බොහෝ සෝවාන් ඵල ලාභී

උතුමන් වත්මන් ජීවිතයේදී ම ඉතිරි මග ඵල අවබෝධ කොට සසර දුක් නිමා කරනවා. තවත් සමහර අය තව එක් ආත්මයක් ඉපදී සසර ගමන කෙළවර කරනවා. ඒ අය **ඒකබීජී** කියලා නම් කරනවා. තවත් සමහර අය උප්පත්ති භව කිහිපයක් ඉහළ ඉහළ දිව්‍ය ලෝකවල සැරිසරා සංසාර දුක් කෙළවර කරනවා. ඒ අය **කෝලංකෝල** කියන නාමයෙන් හඳුන්වනවා. තවත් සමහර අය උප්පත්ති භව හතම ගත කරනවා. ඒ අය **සත්තක්කත්තු පරම** යන නාමයෙන් හඳුන්වනවා. උප්පත්ති බව හතකින් එහාට යලි මේ සංසාරේ නූපදින නිසා එතුමන් වහන්සේලා අටවෙනි භවයක් නොගන්නා බව ගාථාව අවධාරණයෙන් පෙන්වා දෙනවා. එය සංඝරත්නයේ පවත්නා සුවිශේෂ ගුණයක්, රත්න භාවයක්. ඒ රත්න භාවයේ බලයෙන් සියලු සත්වයෝ සුවපත් වෙත්වා! කියලා අපේ සම්මා සම්බුදුරජාණන් වහන්සේ සත්‍ය ක්‍රියාවක් කළ වදාළා.

## දසවන ගාථාව

දැන් අපි සංඝරත්නය පිළිබඳව කියැවෙන ඊළඟ ගාථාවට අවධානය යොමු කරමු. හැමෝම හඬ නගා ගාථාව සජ්ඣායනය කරන්න.

**සහාවස්ස දස්සනසම්පදාය, තයස්සු ධම්මා ජහිතා භවන්ති**
**සක්කායදිට්ඨී විචිකිච්ඡිතඤ්ච, සීලබ්බතං වාපි යදත්ථි කිඤ්චි**
**චතූහපායෙහි ච විප්පමුත්තො, ඡ චාභිඨානානි අභබ්බො කාතුං**
**ඉදම්පි සඞ්ඝෙ රතනං පණීතං, එතෙන සච්චෙන සුවත්ථි හොතු.**

බොහොම හොඳයි, දැන් ගාථාවේ වචනවල තේරුමත් අදහසත් තේරුම් ගනිමු.

**සහාවස්ස** (සහ+ඒව+අස්ස) සමඟ ම ඔහුගෙ, **දස්සනසම්පදාය** දර්ශන සම්පත්තිය, **තයස්සු** තුනක් ඔහුගේ, **ධම්මා** ධර්මයෝ, **ජහිතා** දුරු කරන ලද්දාහු, **භවන්ති** වෙත්, **සක්කායදිට්ඨී** සක්කාය දිට්ඨීය, **විචිකිච්ඡිතඤ්ච** සැකය ද, **සීලබ්බතං** සීල වෘත, **වාපි යදත්ථි කිඤ්චි** යම් කිසිවක් හෝ වේ ද, **චතූහපායෙහි** (චතූහි+අපායෙහි) සතර අපායෙන්, **ච** ද, **විප්පමුත්තො** මිදුනෝ වේ, **ඡ චාභිඨානානි** සය ආකාර වූ ප්‍රබල පාප කර්මයන්,

<u>**අභබ්බො කාතුං**</u> (කාතුං අභබ්බො) කළ නොහැකි වේ. <u>**ඉදම්පි සඞ්ඝෙ රතනං පණීතං**</u> මෙය ද සංඝයරත්නයෙහි පවත්නා ප්‍රණීත වූ රත්න භාවයයි, <u>**එතෙන සච්චෙන සුවත්ථි හොතු**</u> ඒ සත්‍ය බලයෙන් සෙත් වේ වා!

> මේ සෝවාන් ආර්ය පුද්ගලයාගේ සෝවාන් දර්ශන සම්පත්තිය අවබෝධ වීමත් සමගම සක්කාය දිට්ඨිය, විචිකිච්චාව යම්කිසි සීලබ්බත පරාමාසය වශයෙන් කියන ලද සංයෝජන ධර්මය තිදෙන දුරුකරන ලද අතර ඔහු සතර අපායෙන් ද මිදුනේ වේ. එමෙන්ම සය වැදැරුම් බරපතල පාප කර්මයන් කිරීමේ හැකියාව සම්පූර්ණයෙන්ම නැති ව යනවා. මෙය ද සංඝයරත්නයෙහි පවත්නා ප්‍රණීත වූ රත්න භාවයයි. ඒ සත්‍ය බලයෙන් සෙත් වේ වා!

මෙම ගාථා රත්නයෙන් සෝවාන් ඵල ලාභී උත්තමයන් වහන්සේ පිළිබඳ ව වැදගත් කරුණු රාශියක් ඉදිරිපත් වෙනවා. පළමුවෙන් ම සඳහන් කරනවා ප්‍රබල සංයෝජන තුනක් ප්‍රහීන කරන බව. මොනවද ඒ සංයෝජන තුන?

01 <u>**සක්කාය දිට්ඨිය:**</u> තමන් තුළ නිත්‍ය, සුඛ ආත්මයක් ඇතැයි විශ්වාස කිරීම පිළිබඳ මිථ්‍යා දෘෂ්ටිය. මේ සම්බන්ධයෙන් නියත මිත්‍යා දුෂ්ටිය පහල කරගන්නේ නම් අතිශය භයානක බව තේරුම් ගත යුතු වෙනවා.

02 <u>**සැකය:**</u> තෙරුවන් පිළිබඳ ව, හේතුඵල ධර්මතාවය ආදී වූ සම්මා සම්බුදු නුවණින් අවබෝධ කර ගත යුතු ධර්මයන් පිළිබඳ ව අනවබෝධය හේතුවෙන් සැක කිරීම් මෙහි අදහසයි. මගඵල අවබෝධ වන තුරු සැකය ඇති වීම සාමාන්‍ය දෙයක් වුවත් තමාට තේරුම් ගැනීමට හැකි කරුණු මත පදනම් ව ධර්මය ඉදිරියට පුහුණු කිරීම වැදගත් බව තේරුම් ගත යුතු වෙනවා.

03 <u>**සීලබ්බත පරාමාසය**</u>: අත්තකිලමතානුයෝගය හා සම්බන්ධ වන එළුවන්, ගවයන්, සුනඛයන් ආදී සත්වයන්ගේ චර්යා රටා ශික්ෂණ ක්‍රමවේද සේ සලකා සමාදන්ව ආරක්ෂා කිරීම.

මේ තමා අප සසරට බැඳ තබන ප්‍රබල සංයෝජන තුන. මේ ලෝක සත්ත්වයා සංසාරයට බැඳ තබන සංයෝජන දහයක් තියෙනවා. දස සංයෝජන

හැටියට අපි ඒවා ඉගෙන ගන්නවා. අපි මෙහි දී එම සංයෝජන දහය යලිත් සිහියට ගනිමු. අපි මුලින් සඳහන් කළ සංයෝජන තුනට තව හතක් එකතු වෙනවා.

04 <u>කාමරාග</u>: පසිඳුරන් පිනවීමේ දැඩි කැමැත්ත, පංචනීවරණ ධර්මවල පළමු කාරණය හැටියට මෙය විස්තර වෙනවා.

05 <u>පටිඝ</u>: හෙවත් ද්වේශය පංච නීවරණ වල දෙවන කාරණය හැටියට මේ යටතේ විස්තර වෙනවා.

06 <u>රූප රාග</u>: කාම ලෝකයේ ආදීනව දැක කලකිරී රූප ලෝකවල ඉපද සුවසේ වාසය කිරීමට කැමැත්ත රූප රාග වෙනවා.

07 <u>අරූප රාග</u>: රූප ලෝකයෙහි ආදීනව දැක කලකිරී අරූප ලෝකවල ඉපිද සුවසේ වාසය කිරීමට ඇති කැමැත්ත.

08 <u>මාන</u>: නවවිධ මානය හෝ දසවිධ මානය මේ යටතේ සාකච්ඡා කෙරෙනවා.

09 <u>උද්දච්ච</u> සිතෙහි පවත්නා නොසන්සුන් ස්වභාවය යි.

10 <u>අවිජ්ජා</u>: සිතක පවත්නා පරම මලකඩ නැතිනම් මානසික අන්ධකාරය මේ යටතේ ගැනෙනවා. යථාර්ථය දැක්මට තිබෙන ප්‍රබල ම බාධකය මෙය යි.

මේ තමා ඒ සංයෝජන දහය. මෙයින් ප්‍රබල ම තුන තමා, සෝවාන් ඵලය ලැබීමේදී විනාශ වන්නේ. ඉන්පසු උපරිම වශයෙන් ආත්ම හතක් ඇතුළත ඉතිරි සියලු සංයෝජන අනිවාර්යයෙන් ම විනාශ වී යනවා. ඒ පිළිබඳ ව අපි ඉහත ගාථාවේ දී ඉගෙන ගත්තා. විශාල ගසක ප්‍රබල මුල් කපා දැමු ව හොත් ගස ක්‍රමයෙන් මැරෙන්නා සේ සෝවාන් ඵලයේ දී සසරට බැඳ තබන ප්‍රබල කෙලෙස් මුල් සිඳී ගිය පසු ඉතිරි කෙලෙස් ද විනාශ ව යනවා.

මේ ගාථා රත්නයේ සඳහන් සංයෝජන බිඳ වැටීමත් සමඟ සතර අපායෙහි ඉපදීමට තිබෙන හැකියාව ද සම්පූර්ණයෙන් ම නැති ව යනවා. මොනම හේතුවක් නිසාවත් දුගතිගාමී වෙන්නේ නැහැ. අපායගාමී අකුසල් සිදුකිරීමේ හැකියාවක් නැහැ. එනිසා සෝවාන් ඵල ලාභී උත්තමයන් වහන්සේ නියත වශයෙන් ම සතර අපායෙන් ම නිදහස් වෙනවා. යළි කිසි දවසක **තිරිසන්, ප්‍රේත, නිරය, අසුර** නිකාය යන සතර අපායේ

උපදින්නෙම නැහැ. එනිසා අපායගාමී වීමේ බිය සදහට ම නැති ව යනවා. අපේ පින්වතුනුත් කැමති නම් සතර අපායෙන් මිදෙන්නට, මුලින් සඳහන් කළ සංයෝජන තුන කෙසේ හෝ දුරු කරන්න වෙනවා. එහෙම නැත්නම් අපායෙන් නිදහස් වෙන්නේ නැහැ. ගාථා රත්නයේ අවසානයට සඳහන් වන්නේ සෝවාන් ඵල ලාභී උත්තමයන් වහන්සේ කිසිවිටෙකත් නොකරන පාප කර්ම පිළිබඳවයි. මොනව ද ඒ පාපකර්ම.

01 මව ඝාතනය කිරීම,

02 පියා ඝාතනය කිරීම,

03 රහතන් වහන්සේ ඝාතනය කිරීම,

04 සංඝභේදය,

05 සම්මා සම්බුදු ශරීරයට දුෂ්ට චේතනාවෙන් හානි කර ලේ සෙලවීම,

06 මිත්‍යා දෘෂ්ටික වීම.

යන බරපතල පාපකර්ම කිසි කලෙක සිදු කරන්නේ නැහැ. සිදු කිරීමේ හැකියා ව කිසි ලෙසකින් වත් නැහැ. ඒ සඳහා සිතක් උපදින්නෙ ම නැහැ. එබඳු සිත් කිසි කෙනෙකුට උපදවන්නත් බැහැ. තල් ගසක මුදුන කඩා දැමුව හොත් යලි කිසි දවසක ඒ තල් ගස වැඩෙන්නේ නැහැ. අන්න ඒ වගේ තමා සෝවාන් ඵල ලාභී උත්තමයන් වහන්සේ. පංචානන්තරය පාප කර්ම කිරීමට හේතුවන ක්ලේශ ධර්ම කිසි ලෙසකින් සිතෙහි පහළ වන්නේ නැහැ. සෝවාන් ඵලය ලැබීම කියන්නේ සතර මහා සාගරය තරම් දුක්ඛස්ඛන්ධයන්ගෙන් මිදී ක්ෂේම භූමියට පැමිණියා හා සමාන යි. තව දුරටත් ඒ උත්තමයන් වහන්සේට ඉතිරි ව ඇත්තේ දිය දෝතක් තරම් ස්වල්ප දුක්ඛස්ඛන්ධයක් පමණයි. මේ ගාථා රත්නයෙහි සඳහන් කරන කරුණු මනාකොට හදාරා හැකි පමණින් එම ධර්ම කරුණු තමන්ගේ ජීවිත තුළින් අත්දකින්නට හැකි සෑම උත්සාහයක් ම ගන්නට දැඩිකොට අධිෂ්ඨාන කරන්න. ඒ සඳහා අපි සෑම විට ම ආශිර්වාද කරනවා.

## එකොලොස්වන ගාථාව

දැන් අපි ඊළඟ ගාථා රත්නය ඉගෙන ගන්නට උත්සාහ ගනිමු. හැමෝ ම ගාථා රත්නය සජ්ඣායනය කරන්න.

**කිඤ්චාපි සො කම්මං කරොති පාපකං, කායෙන වාචා උද චෙතසා වා**

**අභබ්බො සො තස්ස පටිච්ඡදාය, අභබ්බතා දිට්ඨපදස්ස වුත්තා**

**ඉදම්පි සඞ්ඝෙ රතනං පණීතං, එතෙන සච්චෙන සුවත්ථි හොතු.**

**කිඤ්චාපි** (කිං+ච+අපි) කිසි, **සො** ඔහු, **කම්මං** කර්මයක්, **කරොති** කරයි, **පාපකං** පාපී, **කායෙන** කයින්, **වාචා** වචනයෙන්, **උද** නැත්නම්, **චෙතසා** සිතින්, **වා** හෝ, **අභබ්බො** නොහැකි ය, **සො** ඔහු, **තස්ස** ඒ පාප කරමයේ, **පටිච්ඡදාය** සැඟවීමට, **අභබ්බතා** නොහැකි බව, **දිට්ඨපදස්ස** සෝවාන් ඵල ලාභී උතුමාගේ, **වුත්තා** කියන ලදී, **ඉදම්පි සඞ්ඝෙ රතනං පණීතං** මෙය ද සංඝයරත්නයෙහි පවත්නා ප්‍රණීත වූ රත්න භාවයයි, **එතෙන සච්චෙන සුවත්ථි හොතු** ඒ සත්‍ය බලයෙන් සෙත් වේ වා!

> ඔහු කයින් වචනයෙන් නැතිනම් සිතින් හෝ යම් පාප ක්‍රියාවක් කරයි නම් ඔහුට එම පාප ක්‍රියාව සැඟවීමේ හැකියාවක් නැහැ. සෝවාන් ඵල ලාභී පුද්ගලයාගේ වරද සැඟවීමෙ හැකියාවක් නැති බව සම්මා සම්බුදුරජාණන් වහන්සේ විසින් වදාරන ලදී. මෙය ද සංඝයරත්නයෙහි පවත්නා ප්‍රණීත වූ රත්න භාවයයි. ඒ සත්‍ය බලයෙන් සෙත් වේ වා! කියන සරල අදහස මෙම ගාථා රත්නයෙන් කියෙවනවා.

මෙයින් අපට මනාව පැහැදිලි වන්නේ සෝතාපත්ති ඵල ලභී උත්තමයන් වහන්සේලාගේ අවංක භාවය යි. එය අපේ සම්මා සම්බුදු රජාණන් වහන්සේ දේශනා කර වදාළා, ඒ උතුමන් වහන්සේලා තිදොරින්, ඒ කියන්නේ කයින්, වචනයෙන් හෝ සිතින් යම් වරදක්, යම් ප්‍රමාද දෝෂයක් හේතුවෙන් සිදු කළ හොත් කිසි විටෙක, එය මොන ම හේතුවක් නිසාවත් සඟවන්නේ නැහැ කියලා. සැඟවීමේ හැකියාවක් ඒ උතුමන් වහන්සේලාට කිසිසේත්ම නැහැ කියලා.

සෝවාන් ඵල ලාභී තැනැත්තා කයෙන් වචනයෙන් නැත්නම් සිතින් පාපී ක්‍රියාවක් කරයි නම් ඔහුට එම පාප ක්‍රියා ව සැඟවීමට නොහැකියි. සෝවාන් ඵල ලාභී පුද්ගලයාට තම වරද සැඟවීමේ හැකියාවක් නොමැති බව අපේ සම්මා සම්බුදුරජාණන් වහන්සේ විසින් වදාරා තිබෙනවා. මේ සඳහා ඉතා ම හොඳ ජාතක කතාවක් තියෙනවා. හරි ම ආදර්ශමත් කතාවක්. අපේ බෝසතාණන් වහන්සේ එක් කලෙක තාපස පැවිද්දෙන්

පැවිදි ව වන ගත ව භාවනානුයෝගී ව වැඩ වාසය කළා. ධ්‍යාන සමාපත්ති ඉතා හොඳින් දියුණු කළා. ඍද්ධිබල ශක්ති පවා තිබුණා. මේ කාලයේ තාපස තුමා ටික කලකට රාජෝද්‍යානයට වැඩම කළා. රජතුමා බොහෝ ම ගෞරවයෙන් තාපස තුමාව පිළිගෙන තමන්ගේ උයනේ විවේක සුවයෙන් වාසය කිරීමට සියලු පහසුකම් සැලසුවා. තාපසතුමාත් ටික කලක් පහසුවෙන් තම වැඩ කටයුතු කරගෙන, වැඩ වාසය කළා. මේ අතර රජතුමාට ප්‍රත්‍යන්ත දේශයක කැරැල්ලක් මැඩ පවත්වන්න යන්න සිදු වුණා. ඒ අතර කාලයේ තාපසතුමාට අවශ්‍ය උපස්ථාන කටයුතු කරන්න රජතුමාගේ බිසවට පැවරුණා. ටික දිනකින් දෙදෙනා අතර ප්‍රේම සබඳතාවයක් ගොඩනැගුණා. එය දුර දිග ගොස් රාගයෙන් මුසපත් වූ තාපසතුමා තාපස සීලයෙන් වෙන් ව අග බිසව සමඟ රහසිගත සබඳතා පවත් වන්නට පෙළඹුණා. මේ බව රජතුමාට ද දැනගන්නට ලැබුණා. එහෙත් රජතුමා කලබල වූයේ නැහැ. කැරැල්ල නිමවී රජ මැදුරට පැමිණ රජතුමා පළමු ව අග බිසවගෙන් තොරතුරු විමසුවා. එතුමිය නොපැකිල ව සත්‍ය ප්‍රකාශ කළා. එතුමියගේ වචනය එතරම් සැලකිල්ලට නොගෙන රජතුමා තාපසතුමාගෙන් ම විමසුවා. තාපසතුමා බොරු කීවේ නැහැ. ඕනෑම දඬුවමකට යටත් වීමේ හැඟීම ඇති ව සත්‍ය ම ප්‍රකාශ කළා. එහෙත් තාපසතුමාගේ ප්‍රකාශයෙන් රජතුමා කලබල නොවී, එතුමාට යළි තාපස ශීලයේ පිහිටන්නට ශක්තිය ලබා දුන්නා. කිසිවිටකත් තාපසතුමාට හිංසා පීඩා කරන්නට සිතුවේ නැහැ. එතුමා තාපස ශීලයේ ම පිහිටුවා යළි පෙර පරිදි ම උපස්ථාන කරන්නට අධිටන් කළා. තාපසතුමා තාපස ධර්මයේ පිහිටා යළි එම රාජධානියට නොපැමිණීමේ අදහසින් වනගත වුණා. මෙහි දී අපේ බෝසත් තාපසතුමා මග ඵල ලබා තිබුණේ නැහැ. එහෙත් සෝවාන් මගඵල ලාභියකු සේ සත්‍ය ධර්මයෙහි පිහිටා කටයුතු කළා. සත්පුරුෂ ධර්මයෙහි මනාකොට පිහිටියා. අපි අදත් දකිනවා ඇතැම් සත්පුරුෂ අය මගඵල නොලබා සිටියත්, සත්‍ය ධර්මයේ මනාකොට පිහිටා කටයුතු කරනවා. තමන් අතින් වරදක් සිදු වුවහොත් වරද සඟවන්නට කිසිසේත් උත්සාහවත් වන්නේ නැහැ. තමන් තමන්ගේ වරද පිළි අරගෙන ඇතැම් විට දඬුවම් පවා විඳිමින් යළි සකස් කරගන්නට වෑයම් කරනවා. අපේ බුදුරජාණන් වහන්සේ අගය කළ තව වැදගත් කරුණක් තමා තමාගේ වරද, වරද හැටියට දැක **ආයත සංවරයේ** පිහිටන එක. ඒ ලක්ෂණය ඉතා හොඳින් පුහුණු කරන අයට කිසි දවසක මගඵල වරදින්නේ නැහැ.

එනිසා මගඵල ලැබෙන තුරු සත්‍ය ධර්මය ඉතා ඉහලින් පුරුදු කරන්නට සත්පුරුෂ ජනයා සෑම විටම උත්සහ වන්ත වෙනවා. අපි හැමෝ ම ඒ උතුම් ගුණය හොඳින් පුහුණු කළ හොත් අපේ සමාජ පරිසරය ඉතාම හොඳ වෙනවා. අපේ ලෝකය ම සාමකාමී කරන්න පුළුවන්. අවුල් වියවුල්, කරදර බාධක, වංචා දූෂණ නැති තැනට පත් වෙනවා. සෝවාන් ඵල ලාභී ආර්ය පුද්ගලයන් ළඟ තිබෙන මේ උදාර ගුණය සත්පුරුෂ පින්වතුන් හැටියට, හැම දෙනාම ඉතාම හොඳින් පුරුදු පුහුණු කරන්නට හැකි සෑම උත්සාහයක් ම ගත යුතු යි. එහෙම නැති නම් කිසිම දවසක නිවන් සුව ලබන්නට නම් ලැබෙන්නේ නැහැ.

## දොලොස්වන ගාථාව

දැන් අපි ඊළඟ ගාථාව තේරුම් ගැනීමට උත්සාහ කරමු. හැමෝ ම හඬ නගා ගාථාව සජ්ඣායනය කරන්න.

**වනප්පගුම්බෙ යථා ඵුස්සිතග්ගෙ, ගිම්හාණමාසෙ පඨමස්මිං ගිම්හෙ**
**තථූපමං ධම්මවරං අදෙසයි, නිබ්බාණගාමිං පරමං හිතාය**
**ඉදම්පි බුද්ධෙ රතනං පණීතං, එතෙන සච්චෙන සුවත්ථි හොතු.**

**වනප්පගුම්බෙ** ඝන වනයේ, **යථා** යම්සේ, **ඵුස්සිතග්ගෙ** තුරුලිය අග සුපිපුණු මලින් බර වේද, **ගිම්හාණමාසෙ** ගිම්හාන ඍතුවෙ, **පඨමස්මිං** පළමු, **ගිම්හෙ** මාසය වන බක් මාසයේ, **තථූපමං** එබඳු උපමා ඇති, **ධම්මවරං** උතුම් ධර්මයක්, **අදෙසයි** දේශනා කළ වදාළ සේක, **නිබ්බාණගාමිං** නිවනට පමුණුවන, **පරමං** පරම, **හිතාය** චේතනාවෙන්, **ඉදම්පි බුද්ධෙ රතනං පණීතං** මෙය ද බුද්ධරත්නයෙහි පවත්නා ප්‍රණීත වූ රත්න භාව යයි, **එතෙන සච්චෙන සුවත්ථි හොතු** ඒ සත්‍ය බලයෙන් සෙත් වේ වා!

ගිම්හාන ඍතුවෙ පළමු මාසය වන බක් මාසයේ යම්සේ ඝන වනයේ තුරුලිය අග සුපිපුණු මලින් බර වේද, එබඳු උපමා ඇති, නිවනට පමුණුවන පරම චේතනාවෙන් උතුම් ධර්මයක් දේශනා කළ වදාළ සේක. මෙය ද බුද්ධරත්නයෙහි පවත්නා ප්‍රණීත වූ රත්න භාවය යි. ඒ සත්‍ය බලයෙන් සෙත් වේ වා!

ඉහත ගාථා රත්න කිහිපයෙන් අපේ බුදුරජාණන් වහන්සේ සඟ ගුණ පිළිබඳ ව විස්තර කළ වදාළා. යළිත් මෙම ගාථා රත්නයෙන් සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ අනන්ත ගුණ පිළිබඳ වත් ධර්මය පිළිබඳ වත් කෙටි හැඳින්වීමක් කළ වදාළා. මෙම ගාථා රත්නය මනාකොට ගැඹුරෙන් විමසා බලන විට අපේ සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ අනන්ත බුදුගුණ ප්‍රකාශ වෙනවා. මොනතරම් ලස්සන, අලංකාර, ගැලපෙන උපමා භාවිත කරලා තියෙනවා ද කියන එක පැහැදිලි වෙනවා. ඒ වගේ ම බුදුරජාණන් වහන්සේ ධර්මය දේශනා කලේ කුමන අරමුණකින් ද කියන එකත් පැහැදිලි වෙනවා.

මෙම ගාථා රත්නයේ හරි ලස්සන උපමාවක් හමුවෙනවා. ගිම්හාන ඍතුවේ පළමු මාසය, ඒ කියන්නේ බක්මාසය, සෞභාග්‍යය උදා කරන මාසය බව පින්වතුන් දන්නවා. මේ උපමාව තුළින් එකල පරිසරය පිළිබඳ ව අලංකාර චිත්ත රූපයක් මැවෙනවා. අද අපට ඒ පරිසරය හමුවෙනවා ද කියලා හිතන්න අමාරුයි. සමහර අය අද තිබෙන කරුණු අරගෙන එදා පරිසරය ගැන හිතන්න උත්සාහ කරනවා. මෙහි සඳහන් වන්නේ වසර දෙදහස් හය සියයක තරම් ඈත ඉතිහාසයේ අප භාග්‍යවතුන් වහන්සේ වැඩ සිටි සමයේ පරිසරය පිළිබඳවයි. අද වගේ දූෂණයට ලක්වූ පරිසරයක් නෙවෙයි එදා තිබුණේ. එය අප කාටත් පැහැදිලියි. අද පරිසරය කාර්මීකරණයට ගොදුරු ව අතිශයින් දූෂණය වෙලා. එහෙම පරිසරයක් ජීවමාන සම්මා සම් බුදුරජාණන් වහන්සේ වැඩ සිටි සමයේ පරිසරයට සම කරන්න බැහැ. අනිවාර්යෙන් ම එදා පරිසරය අදට වඩා ඉතා ම හොඳ බව ගාථා රත්න තුළින් දක්නට ලැබෙනවා. මිනිසුන්ට දකින්නට, බලන්නට, නැති කිසිවක් බුදුරජාණන් වහන්සේ උපමා වශයෙන් භාවිත කළ බවක් හමුවන්නේ නැහැ. උපමාවක් භාවිත කරන්නේ ධර්ම කරුණ සාර්ථක ව පැහැදිලි කරන්නයි. එනිසා මේ ගාථා රත්නයේ සඳහන් වන පරිසරය අතිශයින් අලංකාරයි, ලස්සනයි, දැකුම්කලු යි. වන අරණක තුරු ලතා අග සුපිපි මල් වගේ ලස්සන ධර්මයක් කිසි ම ලාභ අපේක්ෂාවකින් තොර ව ශ්‍රාවක ජනයා නිවනට පමුණුවන එකම අරමුණ කරගෙන සද්ධර්මය දේශනා කළ බව මේ ගාථා රත්නයෙන් පැහැදිලි වෙනවා. දේශනා කළ සද්ධර්මය අතර හේතුඵල දහම, චතුරාර්ය සත්‍යය, ආර්ය අෂ්ටාංගික මාර්ගය, සප්ත බොජ්ඣංග, සතර සතිපට්ඨාන, ඉන්ද්‍රිය ධර්ම, බල ධර්ම ආදී සම්මා සම්බුදුරජාණන් වහන්සේලාට පමණක්

දේශනා කළ හැකි උතුම් ධර්මරත්නයන් මේ ධර්ම රත්නයේ අන්තර්ගත වෙනවා. මහා වනාන්තරයේ තුරු ලතා මුදුනෙහි අලංකාර ලෙස සුපිරි මල් මුළු වනන්තරය ම සුවඳවත් කරනවා, වගේ සම්මා සම්බුදුරජාණන් වහන්සේ විසින් දේශනා කළ වදාළ ධර්මය සමස්ත ලෝකය ම ආලෝකමත් කරනවා, සුවඳවත් කරනවා, කල්ප ගණන් සිත්වල බැඳී, වෙලී පවතින ක්ලේෂයන් මුලිනුපුටා දමා මනාකොට පිරිසිදු කරනවා. සියලු කරදර වලින් සිත මුදවනවා. ඒ තුළින් සමස්ත සමාජයට ම හැම පැත්තෙන් ම යහපත උදා කරනවා. සාමය, සතුට සෞභාග්‍ය, උදා කරනවා. මිනිසාගේ ලෞකික දියුණුවත් ලෝකෝත්තර දියුණුවත් සලසා දෙනවා. මෙසේ උගන්වා වදාළ පර්යාප්ති ශ්‍රී සද්ධර්මය මිනිසාගේ ප්‍රතිපත්තිය බවට පත් කරනවා. ඒ තුළින් ධර්මය පෙන්වා දෙන උදාර ඵල අවබෝධ වන්නට පටන් ගන්නවා. ඒ තුළින් මහා සැනසීමක් තමාටත්, සමස්ත සමාජයටත් ගෙන දෙනාවා.

අපේ සම්මා සම්බුදුරජාණන් වහන්සේ ලොවට ධර්ම දේශනා කළ වදාළේ, මහා කරුණාවෙන්. අබ මල් රේණුවක තරම්වත් ලාභාපේක්ෂාවක් තිබුණ බවට තොරතුරක් හමුවන්නේ නැහැ. ලාභ, කීර්ති, ප්‍රශංසා, පුද සත්කාර, නම්බු නාම, අධිපතිකම් ආදී වූ මේ කිසිවක් කෙරෙහි කිසිදු ආශාවක්, තණ්හාවක්, බලාපොරොත්තුවක්, අපේක්ෂාවක් සම්මා සම්බුදුරජාණන් වහන්සේලාට ඇත්තෙම නැහැ. එබඳු ක්ලේෂයන් අනුශය වශයෙන් වත් හමුවන්නේ නැහැ. අවම වශයෙන් කෙලෙස් පුරුද්දක්වත් හමුවන්නේ නැහැ. හේතුව සම්මා සම්බුදුරජාණන් වහන්සේලා කෙලෙස් පුරුදු සහිතවමයි ක්ලේෂ ප්‍රහාණය කරන්නේ. මෙලෙස මේ ගාථා රත්නය තුළින් මනාකොට පැහැදිලි වන්නේ සම්බුදුරජාණන් වහන්සේගේ අනන්ත සම්බුදු ගුණයම යි. එය සම්මා සම්බුදුරජාණන් වහන්සේ තුළ පවත්නා ගුණ රත්න භාවය යි. ඒ සත්‍ය බලයෙන් මේ ස්වභාවික ව්‍යසනයකට ලක්ව පීඩා විඳින මිනිස් සමූහයට පමණක් නොව සමස්ත සත්ව ප්‍රජාවට ම සෙතක් වේ වා! ශාන්තියක් වේ වා! කියන හැඟීමෙන් සත්‍ය ක්‍රියා කළ වදාළ සේක.

## දහතුන්වන ගාථාව

දැන් අපි බුද්ධ රත්නය පිළිබඳ ව කියැවෙන අවසන් ගාථා රත්නයට අවධානය යොමු කරමු. පළමුවෙන්ම හඬ නගා ගාථා රත්නය සජ්ඣායනය කරමු.

**වරො වරඤ්ඤූ වරදො වරාහරො, අනුත්තරො ධම්මවරං අදෙසයි**

**ඉදම්පි බුද්ධෙ රතනං පණීතං, එතෙන සච්චෙන සුවත්ථි හොතු.**

බොහොම හොඳයි, දැන් තේරුම විමසා බලමු.

**වරො** උතුම් වූ, **වරඤ්ඤූ** උතුම් දෙය දන්නා වූ, **වරදො** උතුම් දෙය දෙන්නා වූ, **වරාහරො** උතුම් නිවන් මග ගෙන දෙන්නා වූ, **අනුත්තරො** අනුත්තර වූ සම්මා සම්බුදු රජාණන් වහන්සේ, **ධම්මවරං** (වරං+ධම්මං) උතුම් දහමක්, **අදෙසයි** දේශනා කළ වදාළ සේක. **ඉදම්පි බුද්ධෙ රතනං පණීතං** මෙය ද බුද්ධරත්නයෙහි පවත්නා ප්‍රණීත වූ රත්න භාවය යි, **එතෙන සච්චෙන සුවත්ථි හොතු** ඒ සත්‍ය බලයෙන් සෙත් වේ වා!

> උතුම් වූ, උතුම් දෙය දන්නා වූ, උතුම් දෙය දෙන්නා වූ, උතුම් නිවන් මග ගෙන දෙන්නා වූ අනුත්තර වූ සම්මා සම්බුදු රජාණන් වහන්සේ උතුම් දහමක් දේශනා කළ වදාළ සේක. මෙය ද බුද්ධරත්නයෙහි පවත්නා ප්‍රණීත වූ රත්න භාවය යි, ඒ සත්‍ය බලයෙන් සෙත් වේ වා!

මෙම ගාථා රත්නයත් සම්මා සම්බුදුරජාණන් වහන්සේ පිළිබඳ ව සඳහන් කරනවා. මෙහි **වර** කියන වචනය පස් වතාවක් යෙදිලා තියෙනවා. පාලි භාෂාව **වර** කියන වචනයට උතුම්, ශ්‍රේෂ්ඨ කියන අර්ථය සපයනවා. අපේ සම්මා සම්බුදුරජාණන් වහන්සේ මේ ලොවට පහළ වී වදාළ ශ්‍රේෂ්ඨතම උත්තමයන් වහන්සේ වෙනවා. එබැවින් **වර** කියන වචනය බුදුගුණයෙහි උසස් බව පෙන්වා දෙන්නට විශේෂණ පදයක් ලෙස මෙහි භාවිත කෙරෙනවා. එමෙන් ම අපේ සම්මා සම්බුදුරජාණන් වහන්සේ ශ්‍රේෂ්ඨ වූ නිවන දන්නා බැවින් **වරඤ්ඤූ** කියන වචනයත්, නිවන අනිත් අයට අවබෝධ කර ගැනීමට මග සලසා දෙන බැවින් **වරදෝ** ලෙසත්, නිවන් සුව අවබෝධ කරගැනීමට නිර්වාණ මාර්ගය පෙන්වා දෙන බැවින් **වරාහරෝ** ලෙසත් මෙහි අර්ථ දක්වනවා.

මේ වචන තවත් ආකාරයකින් අර්ථ දක්වා තිබෙනවා. සර්වඥතා ඥානය අවබෝධ කළ බැවින් <u>වර</u> වචනය භාවිත කරනවා. නිවන් සුව අවබෝධ කර, එය ප්‍රත්‍යක්ෂ වශයෙන් දන්නා බැවින් **<u>වරඤ්ඤූ</u>** කියන වචනයත්, අන් අයට විමුක්ති සුවය ලබාදීමට උපදෙස් දිය හැකි බැවින් **<u>වරදො</u>** කියන වචනයත්, නිර්වාණාවබෝධයට උතුම් ප්‍රතිපදාව පෙන්වා දෙන බැවින් **<u>වරාහරෝ</u>** කියන වචනයත් භාවිත වෙනවා. මෙම වචන නිවැරදිව තේරුම් ගැනීමට නම් අනිවාර්යයෙන්ම ම මෙයට අදාල අටුවා ග්‍රන්ථය පරිහරණය කළයුතු වෙනවා. එසේ නොවුණ හොත් මේ ගාථාවේ වචන වලින් පමණක් තේරුම් ගැනීමට දුෂ්කර වෙනවා. එනිසා මෙහි සෙසු ගාථාවලටත් වඩා මේ ගාථාව තේරුම් ගැනීමට, දී තිබෙන අටුවා අදහස විමසන්නට අවශ්‍යම වෙනවා. සම්මා සම්බුදුරජාණන් වහන්සේලා වෙන කිසි කෙනෙකුට සම නොවන බැවින් අනුත්තරෝ කියන වචනය භාවිත කරනවා.

සම්මා සම්බුදුරජාණන් වහන්සේ දේශනා කොට වදාළ ධර්මයත් උතුම් නිසා **<u>ධම්මවරං</u>** (වරං+ධම්මං) කියන වචනය භාවිත වෙනවා. ධර්මයේ උතුම් ලක්ෂණ ප්‍රධාන වශයෙන් හයක් තියෙන බව අපි නිතර සිහි කරනවා. මොනවද ඒ සුවිශේෂී ලක්ෂණ හය? නැවත මතක් කර ගනිමු, බලන්න.

1. සම්මා සම්බුදුරජාණන් වහන්සේගේ ධර්ම රත්නය අඩුපාඩු රහිතව මනාකොට මුල, මැද, අග ගැලපෙන පරිදි පිරිසිදු ව දේශනා කොට වදාළා. එබැවින් සද්ධර්මය **<u>ස්වාක්ඛාත</u>** වෙනවා.
2. ඒ උතුම් ශ්‍රී සද්ධර්මය තම තමන් විසින් අවබෝධ කර ගත යුතු බැවින් **<u>සන්දිට්ඨික</u>** කියන නමින් හඳුන්වනවා.
3. අතීත, අනාගත, වර්තමාන යන කිසිඳු කාලයකට සීමා කල නොහැකි ධර්මයක් බැවින් එම ධර්මය **<u>අකාලික</u>** නම් වෙනවා. ඒ කියන්නේ සත්ත්ව ප්‍රජාවට රාග, දෝෂ, මෝහ යන හානිදායක වූ ක්ලේශ ධර්ම අතීතයටත්, වර්තමානයටත්, අනාගතයටත් එලෙසමයි. ඒ විතරක් නෙවෙයි, ලෝකයේ ඕනෑම තැනක ආගම්, කුල, ජාති, වර්ග, පක්ෂ ආදී භේද වලින් තොරව ඕනෑම පුද්ගලයෙකුට අදාල

වෙනවා. මේ නිසා අපේ බුදුරජාණන් වහන්සේ දේශනා කොට වදාළ ධර්මය කිසියම් කාලයකට සීමා වන්නේ නැහැ. එය ලොව පවත්නා සනාතන ධර්මය ලෙස පවතිනවා. ඒ වගේම, එය සම්මා සම්බුදු රජාණන් වහන්සේලාගෙ අවබෝධ කර ගැනීම් වන අතර නිර්මාණ කිරීම් නොවන බව ද තේරුම් ගත යුතු වෙනවා. ලොව පවත්නා ධර්මය මතු කර පෙන්වා දීම පමණයි මෙහි දී සිදු වන්නේ.

4. කිසිදු පැකිලීමක් නැතිව පැමිණ බලන්න කියලා ඕනෑම කෙනෙකුට ආරාධනා කරන්න පුළුවන්. මේ ධර්මය ඒකාන්තයෙන් සත්‍ය ධර්මයක් එනිසා ඕනෑම කෙනෙකුට පැමිණ බලන්න කියලා යෝජනා කරන්න පුළුවන්. එම ලක්ෂණය **ඒහිපස්සික** ගුණය ලෙස නම් කරනවා.
5. ඒකාන්තයෙන්ම නිවනට පමුණුවන බැවින්, නිවන වෙත කැඳවාගෙන යන බැවින් **ඕපනයික** කියන නාමය භාවිතා කරනවා.
6. ඒ වගේම මේ ධර්මය ප්‍රත්‍යක්ෂ වශයෙන් ම අවබෝධ කර ගන්නේ, ලෝකයේ පවත්නා සනාතන ධර්මතාවයන් අවබෝධ කර ගැනීමට සමත් නුවණැත්තන් විසින් බව අපි දන්නවා. එයත් ධර්මයේ පවත්නා සුවිශේෂ ලක්ෂණයක් වෙනවා.

කිසියම් කෙනෙක් මතුපිටින් බලා මේ කරුණු අතිශය සරලයි, කියා හිතන්න පුළුවන්. එහෙත් මෙම කරුණු එසේ සරල වන්නේ නැහැ. මේ ලක්ෂණයෙන් යුතු පරිපූර්ණ දහමක් දේශනා කරන්නට අපේ සම්මා සම්බුදු රජාණන් වහන්සේ සංසාරයේ අති දීර්ඝ කාලයක් නොවිඳි දුකක් නැහැ. එනිසා ම සම්බුදු ගුණ අනන්ත, අපරිමිත වෙනවා.

## දාහතරවන ගාථාව

හොඳයි දැන් අපට යලිත් සහගුණ පිළිබඳ වැදගත් කරුණු ටිකක් ඉගන ගන්නට අවස්ථාව ලැබෙනවා. සියල්ලට ම පෙර ගාථා රත්නය හඬ නගා සජ්ඣායනය කරමු.

**ඛීණං පුරාණං නවං නත්ථි සම්භවං, විරත්තචිත්තා ආයතිකෙ භවස්මිං**

**තෙ ඛීණබීජා අවිරුළ්හිඡන්දා, නිබ්බන්ති ධීරා යථායම්පදීපො**

**ඉදම්පි සඞ්ඝෙ රතනං පණීතං, එතෙන සච්චෙන සුවත්ථි හොතු.**

**<u>ඛීණං</u>** ක්ෂය කළා, විනාශ කළා, **<u>පුරාණං</u>** මතු උපතට හේතු වන පැරණි කර්ම විපාක ශක්තීන්, **<u>නවං</u>** නව, අළුත් විපාක උපදවන කර්ම, **<u>නත්ථි</u>** නැහැ, **<u>සම්භවං</u>** රැස්කිරීම, **<u>විරත්තචිත්තා</u>** නො ඇලෙන සිත් ඇත්තේ, **<u>ආයතිකෙ</u>** නැවත, **<u>භවස්මිං</u>** භවයක, **<u>තෙ</u>** ඔව්හු, (ඒ), **<u>ඛීණබීජා</u>** විනාශ කළ බීජ ඇත්තේ, **<u>අවිරූළ්හිඡන්දා</u>** නොවැඩෙන ආශා ඇත්තේ, **<u>නිබ්බන්ති</u>** නිවී යත්, **<u>ධීරා</u>** නුවණැත්තෝ, **<u>යථායම්පදීපො</u>** යම්සේ මේ පහන සේ, **<u>ඉදම්පි සඞ්ඝෙ රතනං පණීතං</u>** මෙය ද සංඝරත්නයෙහි පවත්නා ප්‍රණීත වූ රත්න භාවයයි, **<u>එතෙන සච්චෙන සුවත්ථි හොතු</u>** ඒ සත්‍ය බලයෙන් සෙත් වේ වා!

> සියළු සංසාර බන්ධන විනාශ කළා වූ, ඒ රහතන් වහන්සේලා මතු උපතට හේතු වන පැරණි කර්ම විපාක ශක්තීන් විනාශ කර, සසර ගමන දිගු කිරීමට හේතුවන අළුත් විපාක උපදවන කර්ම රැස් කිරීමක් ද නැති, නැවත භවයක උප්පත්තියට ද නො ඇලුනා වූ, නැවත උපතට හේතු වන ප්‍රතිසන්ධි විඤ්ඤාණ නමැති බීජ විනාශ කළ, යළි උපතකට ආශාව ද නැත්තා වූ ඒ උතුමන් වහන්සේලා රහත් ඵල ලාභී ව මෙහි මේ පහන නිවී යන්නා සේ නිවී යනවා. මෙය ද සංඝරත්නයේ පවත්නා සුවිශේෂ රත්න භාවයක්. ඒ සත්‍ය බලයෙන් සියලු සත්ත්වයෝ සුවපත් වෙත් වා!

මෙම ගාථා රත්නය සංඝරත්නය පිළිබඳ ව වැදගත් කරුණු රැසක් ඉදිරිපත් කරනවා. සම්බුදු සසුනේ මාර්ගඵල හතරක් පිළිබඳ ව සඳහන් වෙනවා. එයින්, අපි පළමු මාර්ග ඵලයට අදාළ මූලික විස්තර බොහෝ ප්‍රමාණයක් හඳුනා ගත්තා. මෙම ගාථා රත්නයෙන් පැහැදිලි කරන්නේ අවසාන මාර්ගඵලය පිළිබඳ ව. මේ ලෝක සත්ත්වයා සසරට බැඳ තබන සංයෝජන දහයක් අපි හඳුනා ගත්තා. එයින් මුල්ම සංයෝජන තුන සෝවාන් මාර්ග ඵලයේදී අනුශය වශයෙන් වත් ඉතිරි නොවී ප්‍රහාණය වන බව හඳුනා ගන්නට ලැබුණා. රහත් මාර්ගඵලයට පත් වීමේදී ඉතිරි සංයෝජන සම්පූර්ණයෙන් ම ප්‍රහාණය වෙනවා. කිසි දිනක සංයෝජනවලින් මිදුණු ආර්ය උතුමන් යළි සසරට බැඳෙන්නේ නැහැ. සදහටම සසර දුකින් මිදෙනවා. තව විදිහකින් සඳහන් කරනවා නම්, රාගය, ද්වේශය, මෝහය අනුශය වශයෙන්වත් ඉතිරි නොවී ප්‍රහාණය වෙනවා. එම කෙලෙස් යළි හටගන්නේ නැහැ. බෞද්ධ අපේ අවසාන අරමුණ එතන යි. සම්මා සම්බුදුරජාණන් වහන්සේලා පරෝපදේස රහිතව සිය නුවණින් එම තත්ත්වයට පත්ව රහත්ඵල අවබෝධය සඳහා සුදුසුකම් තියෙන තවත් බොහෝ අයට සහාය ලබා දී

වදාරනවා. පසේ බුදුරජාණන් වහන්සේලා පරෝපදේස රහිතව රහත්ඵල අවබෝධ කලත් සෙසු අයට සහාය දීමට තරම් ශක්තියක්, හැකියාවක් ඇත්තේ නැහැ. ඒ වගේම පසේ බුදුරජාණන් වහන්සේලා දේශනා කරන ධර්මය තේරුම් ගැනීමට තරම් දියුණු, ප්‍රබල නුවණක් ඇති මිනිසුන් හමු නොවන නිසාත්, කිසි කෙනෙකුට කිසිදු මාර්ගඵලාවබෝධ වන්නේ නැහැ. සම්මා සම්බුදුරජාණන් වහන්සේලාට අනුගාමික ප්‍රජාවට ධරමය අවබෝධ කරවීමේ හැකියාව උපරිමයෙන් ම තිබෙනවා. ඒ වගේම සම්මා සම්බුදුරජාණන් වහන්සේලා පහළ වී වදාරන්නේ, දේශනා කරන සද්ධර්මය අවබෝධ කරගැනීමට සමත් ප්‍රජාවක් ඇති කාල වල දී පමණයි. පංච මහා විලෝකනයේ පළමුව **කාලය** විමසා බලන්නේ මේ හේතුව නිසයි.

දැන් අපි මේ ගාථා රත්නයට අවධානය යොමු කර බලමු, රහතන් වහන්සේ පිළිබඳව සඳහන් වන කරුණු මොනවාද කියලා. මෙහි **ඛීණං පුරාණං** කියලා සඳහන් කරන්නේ පැරණි කර්ම ශක්තිවල විපාක දීමේ ශක්තිය ක්ෂය කලා කියන එකයි. ඒ කියන්නේ රහතන් වහන්සේලා රහත් ඵල අවබෝධයට පෙර රැස් කළ සියලුම කුසලාකුසල කර්මවල විපාක දීමේ ශක්තිය, විශේෂයෙන් ම මේ සංසාරයේ යළි යළිත් උපදවමින් සැප විපාක හෝ දුක් විපාක ලබාදීමේ ශක්තිය සම්පූර්ණයෙන් ම ක්ෂය කරනවා කියන එකයි. රහතන් වහන්සේලාගේ ස්ඛන්ධ පරිනිර්වාණය සිදුවන තුරු රැස් කළ කුසල්වල මෙන්ම අකුසල්වල විපාක ශක්තිය ඉතිරි ව තිබෙනවා. ඇතැම් රහතන් වහන්සේලා ප්‍රත්‍යලාභීන් අතර උසස් තැනක් ලබා තිබෙනවා. කුමන තැනක වැඩ විසුවත් කිසිදු අඩු පාඩුවක් නැතිව චීවර, පිණ්ඩපාත, සේනාසන ආදී ප්‍රත්‍ය පහසුකම් පහසුවෙන් ලැබෙනවා. ඇතැම් රහතන් වහන්සේලාට බඩගිනි වේදනාව දුරු කර ගන්නටවත් හැකියාවක් ලැබිලා නැහැ. අපේ ලෝසක රහතන් වහන්සේ මෙයට හොඳම උදාහරණය වෙනවා. මොකද මේ රහතන් වහන්සේට ජීවිතාන්තය දක්වා ප්‍රමාණවත් ප්‍රත්‍ය පහසුකම් ලැබිලා නැහැ. ඒකට හේතුව පෙර ජාතිවලදී අන් අය දෙන දානය පවා වළක්වාලීමේ පාප කර්මය හේතුවෙන් රහතන් වහන්සේ කෙනෙක් වුවත් ආහාරපාන ලැබීමේ වාසනාව ලැබුණේ නැහැ. ඉතිං අපේ පින්වතුන් මේ කරුණ හොඳට හිතට ගන්න. දාන පාරමිතාව පුරුදු නොකර සිටියත් අනුන් විසින් දෙන දානය වලක් වන්නට

නම් හොඳ නැහැ කියලා. තමන්ට පුරුදු කරන්න බැරි නම් අන් අය පුරුදු කරන දාන පාරමිතා ව දෙස බලා අවම වශයෙන් සතුටු වන්නට වත් සිත සකස් කරගන්නට අවශ්‍ය වෙනවා කියලා. මුගලන් මහ රහතන් වහන්සේට සොරුන්ගෙන් පහර කෑමකට ලක්වන්නට සිදු වූ බවත් අපේ පින්වතුන් දන්නවා. එයට හේතුව මතකයිනේ. හොඳයි, රහතන් වහන්සේලා විසින් රැස් කරන ලද සියලු කර්ම ශක්ති වල මතු සංසාරේ විපාක දීමේ ශක්තිය සම්පූර්ණයෙන් ම අවසන් වෙනවා. ඊළඟට **<u>නවං නත්ථි සම්භවං</u>** කියල සඳහන් වෙනවා. මෙයින් පෙන්වා දෙන්නේ රහතන් වහන්සේලා ජීවිතාන්තය දක්වා **සිත, කය, වචනය** මුල් කරගෙන සිදුකරන සියලු ම කුසල කර්මවලට යළි උපතක් ලබා දී සැප විපාක ලබාදෙන්නට සමත් කමක් නැහැ කියන අදහස. එතුමන් වහන්සේලාගේ යහපත් ක්‍රියා කුසල මූලයන් පාදක නොවී ඇති වන නිසා විපාක දීමේ ශක්තියක් නැහැ. මේ නිසා ඒ උත්තමයන් වහන්සේලාට පහළ වන සියලු සිත් කුසල ක්‍රියා හැටියට හඳුන්වා දෙනවා. කුසල ක්‍රියාකාරකම් ස්කන්ධ පරිනිර්වාණය දක්වා ම සිදුකරනවා. ඒවාට විපාක ලබාදීමේ කිසිදු හැකියාවක් නැහැ. අපේ පින්වතුන් දන්නවා සමහර ගස්වල බීජ හට ගන්නවා නමුත් ඒවා පැලවෙන්නේ නැහැ. ඒවාට පැලවීමේ ශක්තියක් නැහැ. රහතන් වහන්සේලාගේ සියලු ක්‍රියාකාරකම් හරියට ම ඒ ගස්වල හටගන්නා පැලවීමේ ශක්තිය නැති බීජ වගෙ යි. ඊළඟට රහතන් වහන්සේලාගේ සිත්වල රාගය නැහැ. අනුශය වශයෙන් වත් රාගය නැහැ, කියලා අපි දන්නවා. ඇලීමේ ස්වභාවය, බැඳ ගැනීමේ ස්වභාවය, අල්ලා ගැනීමේ ස්වභාවය රාගයේ මූලික ලක්ෂණය යි. පටිච්චසමුප්පාදයේ **තණ්හා පච්චයා උපාදානං** ලෙස සඳහන් වෙනවා නේ. ඉතින් තණ්හාව සම්පූර්ණයෙන් ම නැතිනම් කිසිදු උපාදානයක් සිදුවන්නේ නැහැ. මෙන්න මේ නිසයි **<u>විරත්ත චිත්තා</u>** කියලා සඳහන් කරන්නේ. අපේ පින්වතුන් දන්නවනේ, නෙළුම් කොළය. විශේෂයෙන් අලුත් නෙළුම් කොළ මත වතුර රැඳිලා තියෙනවා. හරියට මුතු කැට වගේ වතුර කුඩා බෝල වශයෙන් තමයි අපට පෙනෙන්නේ. පොඩි හෝ චලනයක් සිදු වුව හොත් වහා ම එම කුඩා ජල බෝල විසි වී යනවා. නෙළුම් කොළයේ වතුර තැවරී ඇත්තේ නැහැ. තවත් එබඳු පත්‍ර පරිසරයේ අපට දැක ගන්න පුළුවන්. මේක අපට හොඳ හුරු පුරුදු උදාහරණයක් නිසයි එය ම ගත්තේ. රහතන් වහන්සේලා කිසිම දෙයක ඇලෙන්නෙ, බැඳෙන්නේ, වෙලෙන්නෙ නැහැ. විශේෂයෙන් ම නැවත භවයක ඇල්මක් නැති

ස්වභාවය සරල ව මෙහි පෙන්වා දෙන්නේ. එනිසයි **විරත්ත චිත්තා** කියන වචනය මෙහි දී භාවිත ව තිබෙන්නේ. ඊළඟට සඳහන් වෙනවා, **<u>ඛීණබීජා අවිරූළ්හිඡන්දා</u>** කියලා. යම් පැලවීමේ ශක්තිය හා හැකියා ව ඇති බීජ ප්‍රමාණයක් අරගෙන නටන ජලයේ තම්බා ගත හොත් එම බීජ වල පැළවීමේ ශක්තිය විනාශ ව යනවා. ඒ වගේම රහතන් වහන්සේලා රැස් කරන ලද කුසල් අකුසල් කර්ම වලට විපාක දීමේ ශක්තිය නැති ව යනවා. මේ ප්‍රකාශයෙන් පෙන්වා දෙන්නේ එයයි. ඊළඟට අපේ සම්මා සම්බුදුරජාණන් වහන්සේ රහතන් වහන්සේගේ ස්වභාවය ඉතාම සුදුසු උපමාවකින් පෙන්වා වදාරා තිබෙනවා. මේ සඳහා උපමාවට අරගෙන ඇත්තේ එම ස්ථානයේ දැල් වෙමින් තිබූ පහනක්. මේ සූත්‍ර ධර්මය දේශනා කර වදාරන මොහොතේ එම ස්ථානයේ පහන් දල්වා තිබුණා. එනිසා අපේ බුදුරජාණන් වහන්සේ, **මේ පහන නිවී යන්නේ යම් සේ ද එපරිදි ම** රහතන් වහන්සේලාගේ පනිර්වාණය සිදුවන බව පෙන්වා වදාරා තිබෙනවා. ඉතින් අපේ පින්වතුන්ටත් ඒ උදාහරණය ම මෙනෙහි කරලා, රහතන් වහන්සේගේ ක්ලේශ පරිනිර්වාණය වගේ ම ස්ඛන්ධ පරිනිර්වාණය ගැන තේරුම් ගන්නට පුළුවන් වෙනවා. මෙය ආර්ය මහා සංඝරත්නයේ පවත්නා සුවිශේෂ ගුණ රත්නයක්. ඒ සත්‍ය බලයෙන් සියලු සත්වයෝ සුවපත් වෙත් වා! කියලා බුදුරජාණන් වහන්සේ මහා මෛත්‍රියෙන්, මහා කරුණාවෙන් ආශිර්වාද කළ වදාළා, සත්‍ය ක්‍රියා කළ වදාළා.

## අවසාන ගාථා

**යානීධ භූතානි සමාගතානි, භුම්මානි වා යානි ව අන්තලික්ඛෙ**

**තථාගතං දෙවමනුස්සපූජිතං, බුද්ධං නමස්සාම සුවත්ථි හොතු.**

අහසේ හෝ පොළොවේ වසන යම් කෙනෙක් මෙතැනට රැස් වූවා ද, (ඒ අපි සැම) දෙවි මිනිසුන් ගේ පූජාවට, ගෞරවයට ලක් වූ තථාගත බුද්ධ රත්නය නමස්කාර කරමු.

**යානීධ භූතානි සමාගතානි, භුම්මානි වා යානි ව අන්තලික්ඛෙ**

**තථාගතං දෙවමනුස්සපූජිතං, ධම්මං නමස්සාම සුවත්ථි හොතු.**

අහසේ හෝ පොළොවේ වසන යම් කෙනෙක් මෙතැනට රැස් වූවා ද, (ඒ අපි සැම) දෙවි මිනිසුන් ගේ පූජාවට, ගෞරවයට ලක් වූ තථාගත ධර්මරත්නය නමස්කාර කරමු.

**යානීධ භූතානි සමාගතානි භුම්මානි වා යානි ව අන්තලික්ඛෙ**

**තථාගතං දෙවමනුස්සපූජිතං සඞ්ඝං නමස්සාම සුවත්ථි හොතු**

අහසේ හෝ පොළොවේ වසන යම් කෙනෙක් මෙතැනට රැස් වූවා ද, (ඒ අපි සැම) දෙවි මිනිසුන් ගේ පූජාවට, ගෞරවයට ලක් වූ තථාගත සංඝරත්නය නමස්කාර කරමු.

## පසු විපරම

නිරන්තරයෙන් ම අපි භාවිත කරන අතිශය වැදගත් මහා රත්න පිළිබඳව යි අධ්‍යනය කරන්නට අවස්ථාව සලසා ගත්තේ. රතන සූත්‍රයත් සත්‍යයක් ක්‍රියා වලින් බහුල මහා රත්නයක්. මේ සියලු ම යහපත උදාකර ගැනීමට අවස්ථාව සැලසෙන්නේ අපේ සිත ඉතාම පිරිසිදු ව දියුණු කිරීමෙන් බව පැහැදිලි වෙනවා. අපේ සම්මා සම්බුදුරජාණන් වහන්සේ **සිත** උපරි ම ඉහලට දියුණු කළ වදාළා. ඉතින් බලන්න මොන තරම් යහපතක් ශාන්තියක් මේ මුළු ලෝකයට ම ලැබෙනව ද කියලා. එදා විශාලා මහනුවර වැසියන්ට කිසි ම පිහිටක් නැති වෙලාවක බුදුරජාණන් වහන්සේ වැඩම කිරීම ම යහපත ගෙන දෙන්නට සමත් වූ බව රහසක් නෙවෙයි. රතන සූත්‍රය පුරාවට ම ඇත්තේ බුදුගුණ, සදහම් ගුණ, සඟ ගුණ පිළිබඳව යි. මිනිස් සිත දියුණු කිරීමෙන් තමන්ටත් අන් අයටත් ලැබෙන මහා බලගතු ආනිසංස වෙන කිසි ම ආකාරයෙන් ලබන්න බැහැ කියන එක මේ වටිනා සූත්‍ර ධර්මය පැහැදිලි කර ඔප්පු කරනවා. කිසියම් දෙවි කෙනෙකුගෙන් හෝ බ්‍රහ්මයෙකුගෙන් හෝ වෙනයම් බලවතෙකුගෙන් ලබන්නට බැරි මහා බල ශක්තියක්, හැකියාවක් තම සිත පිරිසිදු කර දියුණු කිරීමෙන් ලබන්නට හැකියා ව ලැබෙනවා. අපේ සියලු ම දියුණුව, අභිවෘද්ධිය රඳා පවතින්නේ අපේ සිතේ දියුණුවේ ප්‍රමාණය මතයි. ඒ වගේ ම පිරිහීම ඇත්තෙත් අපේ සිත තුලම යි. මේ බව අපි ඉතා හොඳින් තේරුම් ගන්නට වෙනවා.

අපේ මේ රතන සූත්‍ර දේශනාවේ ගාථා රත්න දාහතක් තිබෙනවා. ඉන් මුල් ගාථා දෙක වෙන් ව ඇත්තේ පැමිණි පිරිසට ආශිවාද කිරීමට හා කාරුණික ඉල්ලීම් දෙකකට යි. මොනවා ද ඒ ඉල්ලීම් දෙක? අසරණ සත්ත්ව ප්‍රජාවට මෙත් සිත පතුරවන්න, මනා අවධානයෙන් දහම් අසන්න කියන ඉල්ලීම් දෙක.

තෙවන ගථාව මේ සියලු ලෝකවල තිබෙන සියලු ම සම්පත්වලට වඩා බුද්ධ රත්නය උතුම් බව පෙන්වා දෙනවා. සිව්වන ගාථාව ධර්ම රත්නයේ ශ්‍රේෂ්ටත්වය හා විශිෂ්ටත්වය පෙන්වා දෙනවා. රහතන් වහන්සේලාගේ සමාධියේ තිබෙන උසස් බව පස්වන ගාථා රත්නය පෙන්වා දෙනවා. හයවන ගාථා රත්නයේ සිට දොළොස්වන ගාථාව දක්වා ඇති ගාථා රත්න හයම වෙන් වන්නේ සඟ ගුණ පිළිබඳ ව විස්තර කරන්නට යි. එහිදී විශේෂයෙන් අවධානයට ලක්වන්නේ සෝවාන් ඵල ලාභී උත්තමයන් වහන්සේගේ දියුණු කරගත් සිතෙහි ස්වභාවය පිළිබඳව යි. ධර්මයෙහි මනාව පිහිටුවාගත් ඉන්ද්‍රකීලයක් බඳු අකම්පිත සිතක් ඇති ආර්ය උත්තමයන් වහන්සේ මැනවින් චතුරාර්ය සත්‍ය ධර්මය අවබෝධ කරන බවත්, පංචානන්තරිය පාප කර්ම කිසි කලෙක සිදු නොකරන බවත්, කිසි කලෙක මිසදිටු නොවන බවත්, තමා විසින් කය, වචනය, සහ සිත මෙහෙයවා සිදු කරනු ලබන කුඩා අනුකුඩා පාපක්‍රියාවන් වුව ද කිසිවිටකත් නොසඟවන බවත් එම ගාථා රත්නවලින් පෙන්වා දෙනවා.

දොළහ සහ දහතුන ගාථා රත්න දෙකෙන් සම්මා සම්බුදු ගුණ ප්‍රකට කරනවා. දාහතර වන ගාථා රත්නය වෙන් වන්නේ රහතන් වහන්සේ පිළිබඳ ව හඳුන්වා දෙන්නට යි. අවසාන ගාථා තුන පෙන්වන්නේ තෙරුවන් ගුණ වන්දනා කිරීම පිණිස යි.

මේ ලෝකයේ සම්මා සම්බුදුරජාණන් වහන්සේට වඩා උතුම් කෙනෙක් පහළ වී ඇත්තේ නැහැ. නිවැරදි ව තෙරුවන් සරණ ගිය කෙනෙක් කිසි කලෙක වෙනත් සරණක්, පිහිටක් පතන්නේ නැහැ. මෙවැනි අවස්ථාවකදී යම් හේතුවක් නිසා අපට ආශිර්වාද අවශ්‍ය වේ නම්, ඒ සඳහා අපි අපේ ගුණ ධර්ම සිහිපත් කොට සත්‍යය ක්‍රියා කිරීම සුදුසු වෙනවා. මේ රතන සූත්‍ර දේශනාව අපට ආදර්ශයෙන් පෙන්වා දෙන්නේ එය

යි. **'අංගුලිමාල සූත්‍රය'** ඉතාම ප්‍රසිද්ධ සත්‍යයක් ක්‍රියාවක් බව අපි හැමෝ ම දන්නවා. තවත් බොහෝ සත්‍ය ක්‍රියා පිළිබඳ ව අපට අපේ බෞද්ධ සාහිත්‍යය තුළ හමුවෙනවා.

අවසාන වශයෙන් අපි තේරුම් ගත යුතු වන්නේ, අපට අපේ සිත දියුණු කිරීමට වඩා වෙන උතුම් සම්පතක් ලෝකයේ වෙන කිසි තැනක නැති බව. මනාකොට ආරක්ෂා කර දියුණු කරගත් සිත පමණයි අපට ආර්ය සැපතට නිවැරදි මග පෙන්වන්නේ. අපට අපේ පිහිට, සරණ, ආරක්ෂාව ඇත්තේ අප සිත තුළමයි. ඒ බව මනා සිහි නුවණින් අවබෝධ කරගෙන තම එක ම දරුවා පෝෂණය කරමින් රැක බලා ගන්නා මව සේ, තම සිත රැක බලා, දියුණු කර ගැනීමට සෑම මොහොතක ම උනන්දු වෙමු. ඒ සඳහා සියලු ශක්තිය, දිරිය, වාසනාව ලැබේ වා!

තෙරුවන් සරණයි!

නිමාව.